# ඉතිහාසය

## 7 ශ්‍රේණිය

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව



සියලු ම පෙළපොත් ඉලෙක්ට්‍රොනික් මාධ්‍යයෙන් ලබා ගැනීමට
www.edupub.gov.lk වෙබ් අඩවියට පිවිසෙන්න.

# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා
ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති
අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ
අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ
අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

**ආනන්ද සමරකෝන්**

# පෙරවදන

දියුණුවේ හිණිපෙත කරා ගමන් කරනා වත්මන් ලොවට, නිතැතින්ම අවැසි වනුයේ වඩාත් නව්‍ය වූ අධ්‍යාපන ක්‍රමයකි. එමඟින් නිර්මාණය කළ යුත්තේ මනුගුණදම් සපිරුණු හා කුසලතාවලින් යුක්ත දරුපරපුරකි. එකී උත්තුංග මෙහෙවරට ජව බලය සපයමින්, විශ්වීය අභියෝග සඳහා දිරියෙන් මුහුණ දිය හැකි සිසු පරපුරක් නිර්මාණය කිරීම සඳහා සහාය වීම අපගේ පරම වගකීම වන්නේ ය. ඉගෙනුම් ආධාරක සම්පාදන කාර්යය වෙනුවෙන් සක්‍රීය ලෙස මැදිහත් වෙමින් අප දෙපාර්තමේන්තුව ඒ වෙනුවෙන් දායකත්වය ලබා දෙන්නේ ජාතියේ දරුදැරියන්ගේ නැණ පහන් දල්වාලීමේ උතුම් අදිටනෙනි.

පෙළපොත විටෙක දැනුම් කෝෂ්ඨාගාරයකි. එය තවත් විටෙක අප වින්දනාත්මක ලොවකට ද කැඳවාගෙන යයි. එසේම මේ පෙළපොත් අපගේ තර්ක බුද්ධිය වඩවාලන්නේ අනේකවිධ කුසලතා පුබුදු කරවාගන්නට ද සුවිසල් එළි දහරක් වෙමිනි. විදුබිමෙන් සමුගත් දිනක වුව අපරිමිත ආදරයෙන් ස්මරණය කළ හැකි මතක, පෙළපොත් පිටු අතර දැවටී ඔබ සමඟින් අත්වැල් බැඳ එනු නොඅනුමාන ය. මේ පෙළපොත සමඟම තව තවත් දැනුම් අවකාශ පිරි ඉසව් වෙත නිති පියමනිමින් පරිපූර්ණත්වය අත් කරගැනුමට ඔබ සැම නිරතුරුව ඇප කැප විය යුතු ය.

නිදහස් අධ්‍යාපනයේ මහානර්ඝ ත්‍යාගයක් සේ මේ පුස්තකය ඔබ දෝතට පිරිනැමේ. පෙළපොත් වෙනුවෙන් රජය වැය කර ඇති සුවිසල් ධනස්කන්ධයට අර්ථසම්පන්න අගයක් ලබා දිය හැක්කේ ඔබට පමණි. මෙම පාඨ්‍ය ග්‍රන්ථය මනාව පරිශීලනය කරමින් නැණ ගුණ පිරි පුරවැසියන් වී අනාගත ලොව ඒකාලෝක කරන්නට දැයේ සියලු දූ දරුවන් වෙත දිරිය සවිය ලැබේවායි හදවතින් සුබ පතමි.

පෙළපොත් සම්පාදන කාර්යය වෙනුවෙන් අප්‍රමාණ වූ සම්පත්දායකත්වයක් සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ප්‍රණාමය පුද කරමි.

**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

**නියාමනය හා අධීක්ෂණය**

පී. එන්. අයිලප්පෙරුම — අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.

**මෙහෙයවීම :**

ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි — අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන),
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.

**සම්බන්ධීකරණය**

ඒ. එම්. ආර්. කේ. අධිකාරි — නියෝජ්‍ය කොමසාරිස්,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.

ප්‍රදීප් ඉඳුනිල් පියරත්න (2020 මුද්‍රණය) — සහකාර කොමසාරිස්,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.

**සංස්කාරක මණ්ඩලය**

මහාචාර්ය පද්මසිරි කන්නන්ගර — ඉතිහාස අධ්‍යයන අංශය,
ශ්‍රී ජයවර්ධනපුර විශ්වවිද්‍යාලය.

මහාචාර්ය රාජ් සෝමදේව — පුරාවිද්‍යා පශ්චාත් උපාධි ආයතනය,
කැලණිය විශ්වවිද්‍යාලය,
කොළඹ 07.

ආචාර්ය අනූෂා සේනාධිරාජා — ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය,
කලා හා සංස්කෘතික පීඨය,
නැගෙනහිර විශ්වවිද්‍යාලය.

චන්දිමා නිශානි ධර්මපාල — ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය,
ජාතික අධ්‍යාපන ආයතනය.

**ලේඛක මණ්ඩලය**

ආචාර්ය රෝහිත දසනායක — ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය,
පේරාදෙණිය විශ්වවිද්‍යාලය.

ජේ. එම්. සුදර්මාවතී — ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය,
කැලණිය විශ්වවිද්‍යාලය.

ඩබ්. ඒ. සමන්ති ශිරෝමාලා ගුණවර්ධන — සහකාර කථිකාචාර්ය,
ජාතික අධ්‍යාපන ආයතනය.

එම්. ඩී. තිලකලතා — ගුරු සේවය,
සී. ඩබ්. ඩබ්. කන්නන්ගර ම.වි,
බොරැල්ල.

| | |
|---|---|
| නලීන් බණ්ඩාර | ගුරු සේවය,<br>කුරුවිට මධ්‍ය මහා විද්‍යාලය,<br>කුරුවිට. |
| මේරි ඩොනේටා කන්‍යා සොයුරිය | විශ්‍රාමික නියෝජ්‍ය විදුහල්පතිනි |
| යූ. එල්. එම්. බසීර් | විශ්‍රාමික ගුරු උපදේශක |

## භාෂා සංස්කාරක

| | |
|---|---|
| එම්. ඒ. එම්. දමයන්ති | නව ආදර්ශ ප්‍රාථමික පාසල් සංවර්ධන ව්‍යාපෘතිය, අධ්‍යාපන අමාත්‍යාංශය |

## පිටකවර නිර්මාණය

| | |
|---|---|
| ඩබ්ලිව්. ඉසුරි මධුෂානි | පරිගණක අංශය,<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව. |

## පරිගණක අක්ෂර සංයෝජනය සහ පිටු සැකසීම

| | |
|---|---|
| ඩබ්ලිව්. ඉසුරි මධුෂානි | පරිගණක අංශය,<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව. |

## පටුන


1. අපේ පැරණි ජන ජීවිතය 1 - 15

 ආර්ථිකය
 සංස්කෘතිය

2. අපේ කීර්තිමත් රජවරු 16 - 34

 මානවම්ම රජ පෙළපත
 රාජ්‍ය පාලන සංවිධාන
 විජයබාහු රජතුමා
 මහා පරාක්‍රමබාහු රජතුමා
 නිශ්ශංකමල්ල රජතුමා

3. අපේ සංස්කෘතික උරුමය 35 - 52

 අපේ සංස්කෘතික උරුමය යනු කුමක් ද?
 ස්පෘශ්‍ය උරුමය
 අස්පෘශ්‍ය උරුමය

4. පසුකාලීන පාලන මධ්‍යස්ථාන 53 - 61

 හැඳින්වීම
 දඹදෙණි රාජධානි සමය
 යාපහුව
 කුරුණෑගල
 ගම්පොළ
 කෝට්ටේ

5. යුරෝපයේ පැරණි ශිෂ්ටාචාර 62 - 75

 ග්‍රීක ශිෂ්ටාචාරය
 රෝම ශිෂ්ටාචාරය

# 1 අපේ පැරණි ජන ජීවිතය

### හැඳින්වීම

අපේ රටේ ඉතිහාසය ගැන තොරතුරු දැන ගැනීමට අපි බොහෝ ආශා කරමු. ඒ නිසා ඉතිහාසය පිළිබඳ ලියා ඇති පොත් පත්, පත්තර, සඟරා, කතන්දර ආදිය නිතර කියවීමට අපි පුරුදු වී සිටිමු. අතීතයේ අපේ රට පාලනය කළ රජවරුන්, භික්ෂූන් වහන්සේලා ප්‍රමුඛ ආගමික නායකයන්, පාලන කටයුතුවලට සම්බන්ධ නිලධාරීන් ආදී පිරිස් පිළිබඳ මෙන්ම වැව් අමුණු ආදිය ගැන ද මේ වන විට අපි බොහෝ තොරතුරු දනිමු. මේ පාඩම යටතේ අතීතයේ අපේ රටේ ජීවත් වූ වැසියන්ගේ ජන ජීවිතයට අදාළ තොරතුරු ඔබට ඉදිරිපත් කෙරේ.

## ආර්ථිකය

අතීතයේ දී අපේ රටේ ජීවත් වූ ජනතාව ජීවනෝපාය සඳහා විවිධ වෘත්තීන්වල නියැලුණහ. ගොවිතැන, වෙළෙඳාම, විවිධ කර්මාන්ත, සත්ත්ව පාලනය එවැනි වෘත්තීන්වලට උදහරණ වේ. ඒ අනුව පුරාණ ජීවන රටාව ප්‍රධාන ක්ෂේත්‍ර තුනක් යටතේ සිදු වූ බව පෙනේ.

## කෘෂිකර්මාන්තය

අතීතයේ අපේ රටේ සිටි බොහෝ දෙනෙකු ජීවත් වූයේ ගම්වල ය. වර්තමාන ජනතාව මෙන් නොව ඔවුන් ඉතා සරල ජීවිත ගත කළ පිරිසකි. ඔවුන්ගේ අවශ්‍යතා ද සීමිත විය. යැපීම සඳහා අවශ්‍ය වන ආහාර පාන නිෂ්පාදනය කර ගැනීම, ඔවුන් මුහුණ දුන් ප්‍රධාන අභියෝගයක් විය. මෙම අභියෝගය ජය ගැනීමට බොහෝදෙනා කෘෂිකර්මාන්තය ප්‍රධාන ජීවන වෘත්තිය ලෙස තෝරා ගත්හ. එකල කෘෂිකර්මාන්තය, හේන් වගාව හෙවත් ගොඩ ගොවිතැන හා කුඹුරු වගාව හෙවත් මඩ ගොවිතැන වශයෙන් ප්‍රධාන අංශ දෙකක් යටතේ සිදු විය.

## හේන් වගාව

හේන් ගොවිතැන ගොඩ ගොවිතැන යනුවෙන් ද හැඳින්වේ. එදිනෙදා ජීවිතයේ යැපීම සඳහා අවශ්‍ය ධාන්‍ය, එළවළු, අල වර්ග වැනි දෑ හේන්වල වගා කෙරිණි. වර්ෂා ජලයෙන් හේන් වගා කටයුතු සිදු කර ඇත.

☆ කෘෂිකර්මාන්තය

☆ කර්මාන්ත

☆ වෙළෙඳාම



හේන් වගාව ලෝකයේ පැරණි ම ගොවිතැන් ක්‍රමය ලෙස ද සැලකේ. ශ්‍රී ලංකාවේ ද හේන් ගොවිතැන වඩාත් පැරණි ගොවිතැන් ක්‍රමයක් ලෙස සැලකිය හැකි ය.

කැලෑ ගිනි තබා එළි පෙහෙළි කර සකස් කරගන්නා බිමක් හේනක් ලෙස හැඳින්වේ. උම්මග්ග ජාතකයේ **"සේන්"** යනුවෙන් ද සෙල්ලිපිවල **"පිටබිම්"** යනුවෙන් ද අතීතයේ පැවති හේන් හඳුන්වා ඇත. හේනක් සඳහා තෝරාගන්නේ මහ කැලෑවේ බිමකි. එය ගොවීන් වාසය කරන ප්‍රදේශයට තරමක් ඈතින් පිහිටා තිබිණි. හේනක් කෙටීම එක් ගොවියකුගේ හෝ සාමූහිකව කිහිප දෙනෙකුගේ ශ්‍රමයෙන් ද සිදු කර ඇත.

කාවන්තිස්ස රාජ්‍ය සමයේ රුහුණු ප්‍රදේශයේ පිහිටි ගිරි නම් ජනපදයේ නිසෙල්විටිය ගමේ වාසය කළ එක්තරා පවුලක සහෝදරයන් පස් දෙනෙකු එකතු වී වනයක් එළි පෙහෙළි කර උඳු වැපිරීමට හේනක් සකස් කිරීම පිළිබඳ කතා පුවතක් මහාවංසයේ සඳහන් වේ.

හේනක් සකස් කර ගැනීමේ දී ගොවියාට ඉතා වෙහෙස මහන්සි වී කටයුතු කිරීමට සිදු විය. අස්වැන්න නෙළා ගැනීම දක්වා හේන් ගොවියා කළ යුතු කාර්යයන් කිහිපයකි.

**හේන් වගා කළ ආකාරයඃ**

1. හේනක් සකස් කිරීම සඳහා සුදුසු බිමක් තෝරා ගැනීම.
2. කැලය කපා සුද්ද පවිත්‍ර කොට හේන ගිනි තැබීම.
3. දූව දඬු ආදිය පුළුස්සා බිම සැකසීම.

එලෙස අලුතින් ගිනි තබා සකස් කර ගත් භූමිය නවදැලි හේනක් ලෙස හැඳින්වේ.

එවැනි හේන් ඉතා සරුසාර කෘෂි බිම් ලෙස සැලකේ.



රූපය 1.1 නවදැලිහේන

4. අලින්, ඌරන්, ගෝනුන්, ඉත්තෑවුන්, වඳුරන් වැනි වන සතුන්ගෙන් හේන ආරක්ෂා කර ගැනීමටත් අස්වැන්න නෙළා ගන්නා තුරු හේන හොඳින් රැකබලා ගැනීමටත් හේන් ගොවියාට සිදු විය. එහි දී හේන ආරක්ෂා කර ගැනීමට අතීත ගොවීහු විවිධ ක්‍රම අනුගමනය කළහ.

- ✦ දඬු වැට තැනවීම
- ✦ ගිනිමැල ගැසීම
- ✦ පැල් රැකීම

5. වර්ෂා කාලය එළඹෙන විට හේන්වල භෝග වගා කිරීම ඇරඹිණි. ඒවායේ බොහෝ විට කටුසර භෝග වගා කර ඇත. තණහාල්, මෙනේරි, කුරක්කන් වැනි ධාන්‍ය වර්ග එවැනි කටුසර භෝග කිහිපයකි. එසේ ම මුං, මෑ, අමු, ඉඟුරු, අබ, ඇල් වී, තල, කපු, උක් ආදිය ද තිබ්බටු, වම්බටු, අළුපුහුල්, වට්ටක්කා වැනි එළවළු ද ඉන්නල, බතල වැනි අල වර්ග ද හේන්වල වගා කළ බව සාහිත්‍ය ග්‍රන්ථවල සඳහන් වේ.

මුල් කාලයේ දී වී වගාව ද හේන් වගාවක් ලෙස පැවතුණි. හේන්වල වගා කළ වී, ඇල් වී ලෙස හඳුන්වයි. ඇල් වී වගා කළ කෙත් හෙවත් හේන් ඇල් හේන් යනුවෙන් හඳුන්වයි. ඇල් හාල් පිළිබඳ පැරණි සාහිත්‍ය කෘතිවල සඳහන් වේ. දුටුගැමුණු රජුගේ පුත් සාලිය කුමාරයාට එම නම තබන ලද්දේ ඒ කුමරා උපන් කාලයේ ඇල් වී අස්වැන්න ඉහළ ගිය නිසා යැයි ***සීහළවත්ථු*** නම් පැරණි ග්‍රන්ථයේ දැක්වේ. සාලි යනු ඇල් වීවලට යොදන තවත් නමකි. අතීතයේ ඇල් වී ඇතැම් විට කුඹුරුවල ද වගා කෙරිණ. රත් ඇල්, බිබිළි ඇල්, ඉඳි ඇල් ආදිය හේන්වල වගා කළ ඇල් වීවලට උදාහරණ වේ.

6. එක් වරක් හෝ දෙවරක් වගා කර අස්වැන්න නෙළා ගැනීමෙන් පසුව හේන අතහැර දමයි. හේන් බිම නැවතත් කැලෑවක් බවට පත්වන අතර හේන් ගොවියෝ වගා කටයුතු සඳහා වෙනත් බිම් ප්‍රදේශයක් තෝරා ගත්හ.

හේන් වගා කටයුතු සඳහා කැති, උදලු, දෑ කැති වැනි සරල උපකරණ භාවිත කර ඇත.



**රූපය 1.2 පැරණි යුගයේ භාවිත කළ කෘෂි උපකරණ කිහිපයක්**

හේන් වගාවේ දී ගොවියා භාවිත කළ විවිධ වචන ද අපට හමු වේ. අනුරාධපුර යුගය තරම් ඈත කාලයේ භාවිත කළ එබඳු වචන අද දක්නට නැතත් පහත සඳහන් මෑත කාලීන වචන හේන් බස් වහර තේරුම් ගැනීමට ප්‍රයෝජනවත් ය.

නවදැලි හේන - අලුතින් ගිනිතබා සකස් කළ හේන

ගිනි යාතිකාව - හේන ගිනිතැබීමට පෙර සතුන් පන්නා හැරීමට සිදු කළ කෑ ගැසීම

හැලි කටා - හිසට වළඳක් නමා සාදාගන්නා ලද පඹයා



රූපය 1.3 පඹයා

**ක්‍රියාකාරකම**

හේන් ගොවිතැන ඇසුරෙන් පහත වගුව සම්පූර්ණ කරන්න.

| වගා කළ භෝග | විශේෂ ලක්ෂණ | භාවිත කළ උපකරණ | භාවිත කළ වචන |
|---|---|---|---|
| | | | |



## මඩ ගොවිතැන

හේන් වගාවට අමතරව අතීතයේ වඩාත් ප්‍රචලිතව පැවති වගා ක්‍රමය මඩ ගොවිතැන වේ. කුඹුරු ගොවිතැන, වාරි ගොවිතැන යන නම්වලින් ද මඩ ගොවිතැන හැඳින්වේ. මඩ ගොවිතැන බොහෝ විට වාරි ජලයෙන් සිදු කර ඇත. වැව් අමුණු ඉදි කර ඇළ මාර්ග ඔස්සේ කුඹුරුවලට ජලය ලබාගෙන තිබේ. වර්ෂා ජලයෙන් කුඹුරු වගා කිරීම ද සුළු වශයෙන් සිදු විය.

පවුලක යැපීම සඳහා කුඹුරක් වගා කිරීමට පවුලේ ශ්‍රමය ප්‍රමාණවත් වුවත් ජනගහනය වැඩි වීමත් සමග වගා කළ බිම් ප්‍රමාණය ද වැඩි කිරීමට සිදු විය. අනුරාධපුර රාජධානි අවධියේ සෑම ගමකට ම එක් වැවක් බැගින් තිබූ බව සොයාගෙන ඇත. මෙම වැව්, ගම් වැව් යනුවෙන් හඳුන්වයි. පැරණි ශිලා ලිපිවල වැව් හමික, වපි හමික ලෙස හඳුන්වා ඇත්තේ ගම් වැව් තැනවූ අය හෝ එබඳු වැව් අයිතිව සිටි අය විය හැකි ය.

විශාල වශයෙන් කුඹුරු වගා කිරීමට ගම් වැව්වල ජලය ප්‍රමාණවත් නොවීම නිසා රජවරු විශාල වැව් අමුණු ඉදි කළහ. මින්නේරිය වැව තැනවූ මහසෙන් රජු පසු කාලයේ දී මින්නේරි දෙවියන් ලෙස ප්‍රචලිත වූයේ වාරි කර්මාන්තයට කළ විශිෂ්ට සේවය නිසා ය.

වී වගා කිරීම වර්ෂයකට දෙවරක් සිදු වී ඇත. ඒවා කන්න යනුවෙන් හඳුන්වයි. එවැනි කන්න දෙකක් පිළිබඳව නිතර සඳහන් වේ.

- ✦ මහ කන්නය
- ✦ යල කන්නය

මෙම කන්න දෙකට අමතරව ඇතැම් විට මැද කන්නයක් ද වගා කර ඇත.

තෝනිගල ශිලා ලිපියේ අකල හස (මහ කන්නය) මදහස (මැද කන්නය) පිට දඩ හස (යල කන්නය) යනුවෙන් කන්න තුනක් පැවති බව සඳහන් වේ.

මී ගවයන් බැඳි නගුල යොදා ගනිමින් කුඹුර වගාවට සුදුසු පරිදි පස බුරුල් කිරීම සිදු කරයි. එය සී සෑම ලෙස හැඳින්වේ. පස් පෙරළීම නිසා වල් පැළ තැලී පොඩි වී ස්වාභාවිකව ම පොහොර බවට පත් වේ. වර්තමානයේ භාවිත කරන යන්ත්‍ර සූත්‍රවලින් භූමියට හානි සිදු වූවත් පුරාණ සී සෑමේ ක්‍රම පරිසරයට අහිතකර නො වී ය.

වගාවට අවශ්‍ය ජලය රඳවා තබා ගැනීමටත් ක්‍රමානුකූලව ජලය පිටතට යැවීමටත් සුදුසු පරිදි ගොවියා විසින් ලියදි සකස් කිරීම සිදු කරන ලදි. කුඹුර සකස් කර ගැනීමෙන් පසුව වී වර්ග වැපිරීම සිදු කෙරිණි.



**රූපය 1.4 සී සෑම**

වී වගා කිරීම සඳහා කුඹුරක් සකස් කර ගැනීමට ගොවියාට බොහෝ වෙහෙස වීමට සිදු විය. ඒ සඳහා ගොවියා සිදු කළ යුතු කාර්යයන් ගණනාවක් විය.

වී වගාවට වැඩි වශයෙන් කෘමීන් හා කුරුල්ලන් වැනි සතුන්ගෙන් හානි සිදු වේ. වී වැපිරීමේ සිට අස්වනු නෙළා ගන්නා තෙක් ගොයම ආරක්ෂා කර ගැනීමට විවිධ සාම්ප්‍රදායික ක්‍රම භාවිත කර තිබේ.

- ✯ නියරවල සහ කුඹුරේ තැන තැන පොල්පිති සිටුවීම
- ✯ තෙල් පොඟවන ලද පහන් තිර පත්තු කිරීම එවැනි සාම්ප්‍රදයික ක්‍රම කිහිපයකි

තෙල් පොඟවන ලද පහන් තිර කුඹුරේ පත්තු කිරීම සිදු කළේ රෙදි පාන්කඩ ඉරා තිර ලෙස අඹරා මී තෙලෙන් පොඟවා කඳුරු කෝටුවල බැඳීමෙනි. මැස්සන් මර්දනය කිරීමට මෙම ස්වාභාවික ක්‍රමය අතීතයේ ඉතා ම ජනප්‍රිය විය.

නගුල, පෝරු, දෑකැති හා උදලු වැනි උපකරණ කුඹුරු ගොවිතැන් කටයුතුවල දී යොදා ගෙන තිබේ. නිසි පරිදි ගොයම් පැසුණු විට කුඹුරේ අස්වැන්න නෙළීම අරඹා ඇත. අතීතයේ දී එය මුළුමනින් ම සිදු වූයේ මිනිස් ශ්‍රමයෙනි. කපාගත් ගොයම් හරකුන් යොදාගෙන පාගා ලබා ගත් වී පරිහරණයට ගන්නා තෙක් ආරක්ෂා සහිතව තැන්පත් කිරීම සඳහා කටයුතු කර ඇත.

පැරණි ගොවියෝ මේ සඳහා වී බිස්සක් නිර්මාණය කළහ.

කැකුළු සහල් හා තැම්බූ සහල් යනුවෙන් වී සකස් කර ගෙන ආහාරයට යොදා ගෙන ඇත. නො තැම්බූ වී කොටා කැකුළු සහල් සාදා ගන්නා අතර වී තම්බා වේලා කොටා ගැනීමෙන් තැම්බූ සහල් සාදා ගනියි.

ඊළඟ කන්නයේ වගා කටයුතු ආරම්භ කරන තෙක් පුරාණ ගැමියෝ ධාන්‍ය වර්ග ආරක්ෂාකර ගැනීමට විවිධ ක්‍රමවේද අනුගමනය කළහ.



රූපය 1.5 පැරණි දෑකැත්තක්



රූපය 1.6 සාමූහික ව ගොයම් කැපීම



රූපය 1.7 වී බිස්ස

### ක්‍රියාකාරකම

මඩ ගොවිතැන ඇසුරෙන් පහත වගුව සම්පූර්ණ කරන්න.

| වගා කළ කන්න | විශේෂ ලක්ෂණ | භාවිත කළ වචන | භාවිත කළ උපකරණ |
|---|---|---|---|
| | | | |

මඩ ගොවිතැනේ දී භාවිත කළ වචන

ගොයම් මැඩීම - ගොයම් පෑගීම

ගොයම් කොළය - කපා ගත් ගොයම් එකතු කොට සකස් කර ගත් ගොයම් ගොඩ

කමත - ගොයම් පෑගීම සිදු කළ ස්ථානය

## සත්ත්ව පාලනය

ඉහත සඳහන් කළ හේන් ගොවිතැන හා කුඹුරු ගොවිතැන හැරුණු විට සත්ත්ව පාලනය ද එකල ප්‍රධාන ජීවන ක්‍රමයක් ලෙස පැවතිණි. සත්ත්ව පාලනය යනු මස්, කිරි, බිත්තර ආදිය ලබා ගැනීම පිණිස මෙන් ම කෘෂිකර්මාන්තය හා ප්‍රවාහනය වැනි කටයුතු සඳහා යොදා ගැනීමට සතුන් ඇති කිරීම ය. මෙහි දී ගවයා, එළුවා, කුකුළා, ඌරා, වැනි සතුන් අතීතයේ සිට මෙරට සත්ත්ව පාලනයට යොදා ගෙන ඇත.

ගවයා යනු කිරි ලබා ගැනීමට මෙන් ම කෘෂිකර්මාන්තය හා ප්‍රවාහනය සඳහා ද යොදා ගත් සත්ත්වයෙකි. මේ නිසා ගව පාලනය පැරණි සමාජයේ බොහෝ ප්‍රචලිතව තිබිණි. කිරි ලබා ගැනීම සඳහා යොදා ගත් ගව දෙනුන් **කිරි ගෙරි** ලෙස හඳුන්වා ඇත. අතීතයේ දී **කිරි, දී කිරි, මෝරු, ගිතෙල්, වෙඬරු** වශයෙන් ගවයාගෙන් පෝෂණ ද්‍රව්‍ය පහක් ලබා ගෙන ඇත. මේවා **පස් ගෝ රස** යනුවෙන් හැඳින්වේ. අතීතයේ දී මස් පිණිස ගවයන් ඇති කිරීම සිදු නො වූ අතර ගව මස් ආහාරයට ගැනීම ප්‍රචලිතව නො තිබුණි. ගව පාලනයේ දී ගවයන් රැක බලා ගැනීම සහ තණ කැවීම ආදියෙහි නිරත වූ පුද්ගලයන් ගොපල්ලන් ලෙස හැඳින්විණි. පැරණි මූලාශ්‍රයවල මෙම පුද්ගලයන් ජීවත් වූ ගම් ගෝපාල ගම් ලෙස දක්වා ඇත.

මහාවංසයේ සඳහන්වන පරිදි පණ්ඩුකාභය රජතුමා ළමා කාලය ගත කර ඇත්තේ දොරමඩලාව නම් ගොපලු ගමේ ය.

වර්තමානයේ මෙන් දියුණු ප්‍රවාහන ක්‍රම අතීතයේ නො තිබුණු නිසා භාණ්ඩ හා මිනිසුන් ප්‍රවාහනය කිරීම සඳහා ගවයන් බැඳිකරත්ත යොදා ගෙන ඇත. **ගැල් මීවුන්, ගැල් ගොන්** යනුවෙන් ප්‍රවාහන කටයුතුවලට යොදා ගත් ගවයන් හඳුන්වා තිබේ. ගවයන්ගේ පිටේ භාණ්ඩ රැගෙන යාම තවලම ලෙස හැඳින්වේ.

බිත්තර, මස් ආදිය ලබා ගැනීම සඳහා කුකුළු පාලනය පැවතිණ. මීට අමතරව කිරි හා මස් ලබා ගැනීමට එළුවන් ඇති කළ බව පෙනේ.



රූපය 1.8 තවලම



රූපය 1.9 සතුන් යොදා ගෙන ගොයම් මැඩීම

## කර්මාන්ත

අතීත ජනතාවගේ විවිධ අවශ්‍යතා සඳහා කර්මාන්ත බිහි කරගෙන තිබුණි. එක් එක් භාණ්ඩ හා ද්‍රව්‍ය නිෂ්පාදනය කිරීමට විශේෂ හැකියාවක් ඇති පිරිස් මෙම කර්මාන්ත ආශ්‍රිතව වැඩ කළහ. මේ පිරිස් ශිල්පීන් ලෙස හැඳින්වූ අතර ඇතැම් විට කණ්ඩායම් ලෙස ජීවත් වූහ. අමුද්‍රව්‍ය පහසුවෙන් ලබා ගත හැකි ප්‍රදේශ ආශ්‍රිතව කර්මාන්ත බිහි වී තිබූ බව පෙනේ. පහත සඳහන් වන්නේ එසේ පැවති කර්මාන්ත කිහිපයකි.

| කර්මාන්තය | ශිල්පීන් | නිෂ්පාදිත භාණ්ඩ |
|---|---|---|
| ලෝහ<br>(යකඩ, තඹ, රන්, රිදී) | යකඩ වැඩ කරන්නන්<br><br>ලෝකුරුවන්<br>රත්‍රං වැඩ කරන්නන් රන්කරුවන්<br>(ස්වර්ණකාර)<br><br>තඹ ආශ්‍රිත ශිල්පීන්<br>(තඹකර) | කෘෂි උපකරණ<br>කැති, පොරෝ, දෑකැති, නගුල්,<br>දුණු, කඩු, පලිහ, හෙල්ල<br><br>මාල, වළලු, කරාබු, හිස පලඳනා ආදිය<br><br>තඹ නිර්මාණ |





**රූපය 1.10 වම්පසින්, යකඩ කර්මාන්තය සඳහා භාවිත කරන මයිනහම**

**දකුණු පසින්, පුරාවිද්‍යා කැණීම්වලින් හමු වූ පැරණි යකඩ ඇණ කිහිපයක්**

| කර්මාන්තය | ශිල්පීන් | නිෂ්පාදිත භාණ්ඩ |
|---|---|---|
| මැටි | වළං සාදන්නන් (කුම්භකාර/කුඹල්ලු) | උළු, ගඩොල්, වළං |



රූපය 1.11 සකපෝරුව භාවිත කරමින් මැටි භාණ්ඩ තැනීම

| කර්මාන්තය | ශිල්පීන් | නිෂ්පාදිත භාණ්ඩ |
|---|---|---|
| උක් | | පැණි, හකුරු, සීනි |
| කපු (පේෂ කර්මාන්තය) | පෙහෙකාර | රෙදි පිළි |
| මැණික් | මණිකර | මැණික් කැපීම, ඔප දැමීම |

## ක්‍රියාකාරකම

අතීත ශ්‍රී ලංකාවේ කර්මාන්ත පිළිබඳ තොරතුරු ඇසුරෙන් පහත වගුව සම්පූර්ණ කරන්න.

| කර්මාන්තය | ශිල්පීන් | නිෂ්පාදන භාණ්ඩ | භාවිත කළ උපාංග |
|---|---|---|---|
| | | | |

## වෙළෙඳාම

වෙළෙඳාම යනු අතීත ජනතාවගේ තවත් එක් ප්‍රධාන ජීවනෝපාය ක්‍රමයකි. මේ නිසා අතීත ශ්‍රී ලංකාවේ දියුණු වෙළෙඳාමක් පැවතිණ. වර්තමානයේ මෙන් අතීතයේ දී ද වෙළෙඳාම දෙයාකාරයකින් සිදු විය.

1. රට ඇතුළත සිදු කළ වෙළෙඳම
2. රටින් පිටත විදේශ රටවල් සමග සිදු කළ වෙළෙඳාම

රට ඇතුළත වෙළෙඳාම අභ්‍යන්තර වෙළෙඳාම ලෙසත්, විදේශ රටවල් සමග වෙළෙඳාම බාහිර වෙළෙඳාම හෝ විදේශ වෙළෙඳාම ලෙසත් හැඳින්වේ.

## අභ්‍යන්තර වෙළෙඳාම

අභ්‍යන්තර වෙළෙඳාම සඳහා බහුලව භාණ්ඩ හුවමාරු ක්‍රමය සිදු වුවත් කාසි භාවිතය ඉතා සුළු වශයෙන් තිබිණ.

භාණ්ඩයකට භාණ්ඩයක් හුවමාරු කර ගැනීම භාණ්ඩ හුවමාරුව නම් වේ. භාණ්ඩ මිල දී ගැනීමට මුදල් ගෙවිය යුතු වුවත් මෙහි දී මුදල් වෙනුවට භාණ්ඩ ලබා දීම මගින් ගෙවීම සිදු වේ.

වෙළෙඳාම දියුණු වීමත් සමග වෙළෙඳ නගර බිහි විය. අනුරාධපුරය, මාගම එවැනි වෙළෙඳ නගර දෙකකි. ඇතැම්විට මෙබඳු වෙළෙඳ නගර මූලාශ්‍රයවල ''නිගම'' යනුවෙන් හඳුන්වා ඇත. වෙළෙඳාමෙන් ධනවත් වූ අය මෙම නගරවල ජීවත් වූහ. මේ පිරිස් අතර දේශීය මෙන් ම විදේශීය ජනයා ද සිටි බව පෙනේ. වෙළෙඳාමට සම්බන්ධ අය වෙන ම කණ්ඩායමක් ලෙස සංවිධානය වූහ. එවැනි වෙළෙඳ සංවිධාන "පූග" යනුවෙන් හඳුන්වා ඇත. විදේශීය වෙළෙන්දන් සංවිධානය වී සිටි වෙළෙඳ ශ්‍රේණි කිහිපයක් විය. නානාදේසි සහ වලඤ්ජියාර් එම වෙළෙඳ ශ්‍රේණිවලට උදාහරණ වේ. මේ එක් එක් වෙළෙඳ ශ්‍රේණි තම අනන්‍යතාව තහවුරු කිරීම සඳහා සංකේත භාවිත කර ඇත. ඒවා මුද්‍රා ලෙස හැඳින්වේ.




රූපය 1.12 අම්පාර රජගල පුරාවිද්‍යා භූමියෙන් ලැබුණු හස්එබු කහාපණ කාසියක් (වම්පස කාසිය ද දකුණුපස අනුරුවක් ද දැක්වේ)

හස්එබු කහාපණ යනු දැනට වසර දෙදහසකට පමණ පෙර ලංකාවේ භාවිත වූ මුල් ම කාසි විශේෂයකි. රිදියෙන් තැනවූ මෙම කාසියේ පත්‍ර සහිත ගසක්, හස්ති රූපයක් හා සූර්යයා ආදි සංකේත යොදා ඇත. ක්‍රි. පූ පළමුවන සියවස වන විට අනුරාධපුරය හැරුණු විට සෙසු ප්‍රදේශවල ද කාසි භාවිතය ප්‍රචලිතව තිබූ බව අම්පාර ප්‍රදේශයෙන් මෙම කාසිය ලැබීමෙන් පැහැදිලි වේ.

නගරවලට අමතරව වෙළෙඳාමට සම්බන්ධ වෙළෙඳ ගම් ද පැවතිණ. පට්ටන ගම් හෝ පටුන් ගම් යනුවෙන් එබඳු වෙළෙඳ ගම් හඳුන්වා ඇත. නගරයේ වෙළෙඳසැල්වල විවිධ භාණ්ඩ විකිණීම සිදු විය.

වළං, රෙදි පිළි, ආභරණ, කෑම බීම ඊට උදාහරණ වේ.

මාගම සිට පැමිණි සුරනිමල යෝධයා අනුරාධපුරයේ පිහිටි වෙළෙඳ සැලකින් සුවඳ විලවුන් මිල දී ගැනීමේ සිද්ධියක් පිළිබඳ මූලාශ්‍රයවල සඳහන් වේ.

හතරවන උදය රජතුමා (ක්‍රි. ව. 946 - 954) මහියංගණ විහාරයට පැමිණි අවස්ථාවක, ඒ අසල සොරබොර ප්‍රදේශයේ පිහිටි හෝපිටිගමු වෙළෙඳපොළෙහි අකටයුතුකම් සිදු වන බවට ප්‍රදේශවාසීහු රජුට පැමිණිලි කළහ. එම අකටයුතුකම් නතර කරවීම සඳහා රජතුමා විසින් ශිලා ලිපියක් පිහිටුවන ලදි. එය බදුලු ටැම් ලිපිය ලෙස හැඳින්වේ. එහි දැක්වෙන වෙළෙඳපොළ පාලනයට අදාළ නීති රීති කිහිපයක් මෙසේ ය.

- වෙළෙඳපොළට ගෙනෙන භාණ්ඩ පෙර මගට ගොස් නො ගත යුතු ය.
- අනුමත නො කළ තරාදි පඩි භාවිත නො කළ යුතු ය.
- බුලත්, පුවක් ආදිය නියමිත මණ්ඩපවල තබා විකිණිය යුතු ය.
- වෙළෙඳපොළට ගෙනෙන භාණ්ඩ විකුණුවොත් මිස ඒවා වෙළෙඳපොළ හරහා ගෙන ගියාට බදු අය නො කළ යුතු ය.

### ක්‍රියාකාරකම

පැරණි ලංකාවේ අභ්‍යන්තර වෙළෙඳාම පිළිබඳව වාක්‍ය පහක් ලියන්න.

## විදේශ වෙළෙඳාම

ශ්‍රී ලංකාව ඉන්දියන් සාගරයේ මධ්‍යගත ව පිහිටා තිබීම නිසා අතීතයේ සිට ම විදේශීය රටවල් සමග ඉතා දියුණු වෙළෙඳ සම්බන්ධතා පවත්වා ඇත. ඉන්දියාව, චීනය, රෝමය, පර්සියාව, අරාබිය, සහ අග්නිදිග අසියාතික රටවල් ද ඒ අතර විය.

එවකට රටේ තිබුණු ඇත් දත්, මුතු, මැණික්, කුළුබඩු, ඖෂධ වර්ග, වටිනා දැව, ආදිය මෙන් ම ඇතුන් ද විදේශ රටවලට වෙළෙඳාම් කෙරිණි. ශ්‍රී ලංකාව රත්නදීප (මැණික් දිවයින) යනුවෙන් අතීතයේ දී හඳුන්වා ඇත්තේ අපේ රට මැණික්වලට ප්‍රසිද්ධව තිබුණු නිසා ය.

පිඟන්, සේද රෙදි, සුවඳ විලවුන්, මෙන්ම අශ්වයින් ද විදේශ රටවලින් මෙරටට ගෙන විත් තිබේ.

ශ්‍රී ලංකාවේ දඹකොළ පටුන (කන්කසන්තුරේ පිහිටි) මාතොට (මන්නාරමේ පිහිටි), ගෝකණ්ණ (ත්‍රිකුණාමලයේ පිහිටි), ගොඩවාය (හම්බන්තොට පිහිටි) වැනි වරායන් විදේශ වෙළෙඳාමේ දී වැදගත් විය. පිටරටින් ගෙන්වන භාණ්ඩ (ආනයනය කරන ලද) සහ පිටරට යවන භාණ්ඩ (අපනයනය කරන ලද) ගොඩබෑම සහ පැටවීම සිදු කළේ මෙබඳු වරායන් මගිනි.



රූපය 1.13 ශ්‍රී ලංකාවෙන් හමු වූ චීන මැටි බඳුන්

පුරාවිද්‍යා කැණීම් මගින් අතීතයේ මෙරටට ආනයනය කළ විදේශීය භාණ්ඩවල කොටස්, මෙන් ම විවිධ රටවලට අයත් කාසි වර්ග ද සොයා ගෙන ඇත. අනුරාධපුර රාජධානිය පාලනය කළ භාතිකාභය රජතුමා රුවන්වැලිසෑය අලංකාර කිරීමට සකස් කළ පලඳනාවට අවශ්‍ය පබළු ගෙන්වා ගැනීම සඳහා රෝමයට මෙරටින් දූතයන් යැවූ බව මූලාශ්‍රයවල සඳහන් වේ. මෙම වෙළෙඳ කටයුතු බහුලව සිදු කළේ මුහුදු මාර්ග



රූපය 1.14 ශ්‍රී ලංකාවෙන් හමු වූ පුරාණ චීන කාසි කිහිපයක්

ඔස්සේ ය. භාණ්ඩ හා මිනිසුන් ප්‍රවාහනය කිරීමට එක් එක් ප්‍රමාණයේ නැව් යොදා ගැනිණි. මේ නිසා ඉන්දියාව, පර්සියාව වැනි රටවලට අයත් නැව් නිරන්තරයෙන් ම ලංකාවට පැමිණි බවට තොරතුරු ලැබේ.

ශ්‍රී ලංකාවට අයත් තට්ටු හා පඩි පේළිවලින් යුක්ත ශක්තිමත් නැව් චීනයේ වරායවල තිබූ බව චීන මූලාශ්‍රයවල සඳහන් වේ.

විදේශීය වෙළෙඳ කටයුතු පාලනය කිරීමට ද විවිධ නිලධාරින් යොදා තිබිණි. මේ අතුරින් වරාය ආශ්‍රිතව කටයුතු කළ නිලධාරින් (රේගු නිලධාරින්) පිළිබඳ තොරතුරු ලැබී ඇත.

වරායවලට පැමිණෙන නැව්වලින් බදු එකතු කිරීම මෙම නිලධාරින්ට අයත් කාර්යයක් විය. උදාහරණයක් ලෙස ගොඩවාය වරායෙන් අය කරගත් රේගු බදු ගැන සඳහන් වේ.

### ක්‍රියාකාරකම

විදේශ වෙළෙඳාම පිළිබඳ තොරතුරු ඇසුරින් පහත සඳහන් වගුව සම්පූර්ණ කරන්න.

| වෙළෙඳාමට සම්බන්ධ රටවල් | ආනයනය කරන ලද භාණ්ඩ | අපනයනය කරන ලද භාණ්ඩ | ශ්‍රී ලංකාවේ වරායන් |
|---|---|---|---|
| | | | |

## සංස්කෘතිය

ශ්‍රී ලංකාව යනු විවිධ ජන කණ්ඩායම්වලට අයත් ජනතාවක් වාසය කරන රටකි. සිංහල, දමිළ, මුස්ලිම් යනු එකී ජන කණ්ඩායම් වේ. මේ අය එක් එක් සංස්කෘතීන්වලට අයත් වේ. මේ නිසා අපේ රටේ විවිධ ජාතීන්ට අයත් සංස්කෘතික ලක්ෂණ දක ගත හැකි ය. සංස්කෘතිය යනු කිසියම් සමාජයක ජීවත්වන ජන කණ්ඩායමක ඇදහිලි, විශ්වාස, සිරිත් විරිත්, සමාජ පුරුදු, ඇඳුම් පැලඳුම්, ආහාර රටාව, ආචාරධර්ම, රසවින්දනය ආදී ලක්ෂණ සියල්ලේ ම එකතුවක් ලෙස දැක්විය හැකි ය.

දේවානම්පියතිස්ස රජතුමාගේ පාලන සමයේ දී අපේ රටට බුදුදහම හඳුන්වා දීමෙන් අතීත සමාජය තුළ විශාල පරිවර්තනයක් සිදු විය. මේ නිසා සමාජයට විනයක් හා ශික්ෂණයක් ලැබුණි. එකිනෙකාට උපකාර කර ගැනීම හෙවත් අන්‍යෝන්‍ය සහයෝගය වර්ධනය විය. දගැබ් ඉදි කිරීම, විහාරාරාම තැනවීම, වැව් අමුණු බැඳීම, මංමාවත් සැකසීම වැනි පොදු කටයුතුවල දී සියලු දෙනා ඒකරාශී වී සාමූහිකව කටයුතු කළ බව පෙනේ. එබඳු ගුණාංග වර්තමාන සමාජයට වුව ද අතීතයෙන් ලබා ගත හැකි මහඟු ආදර්ශ වේ. අතීත සමාජයේ පැවති යහපත් සිරිත් විරිත් පිළිබිඹු වන අවස්ථා කිහිපයක් උදාහරණ වශයෙන් ගෙන මේ තත්ත්වය තවදුරටත් විමසා බලමු.

## අත්තම් ක්‍රමය

ශ්‍රමයට ශ්‍රමය හුවමාරු කර ගැනීම අත්තම් ක්‍රමය ලෙස සරලව හඳුන්වා දිය හැකි ය. අපේ රටේ ජීවත් වුණු බොහෝ පිරිසකගේ ජීවනෝපාය වූයේ කෘෂිකර්මාන්තය වුවත් ඒ සඳහා යොදගත්තේ පවුලේ ශ්‍රමය යි. එහෙත් ගොයම් කැපීම වැනි කටයුතු සඳහා විශාල පිරිසකගේ ශ්‍රමය අවශ්‍ය විය. මේ සඳහා ගොවීහු අසල්වාසීන් තම කටයුතුවලට සම්බන්ධ කර ගත්හ. මේ නිසා එකිනෙකා අතර සුහදශීලී බව සහයෝගය හා උපකාර කිරීම වැනි ගුණාංග වර්ධනය විය.

තමාට කළ උපකාරයට ප්‍රතිඋපකාර කිරීමක් ලෙස ගොවියා අනෙක් අයගේ කටයුතු සඳහා ඒ හා සමානව ශ්‍රමයෙන් දයක වීමේ ක්‍රමය අතීත සමාජයේ පැවතිණ. මෙය අත්තම් ක්‍රමය ලෙස හැඳින්විණි.

සාමාන්‍ය ජනතාව පමණක් නො ව අතීත රජවරුන් ද ගොවිතැන් කටයුතුවලට සම්බන්ධ වූ ආකාරය පිළිබඳ කථා පුවත් මූලාශ්‍රයවල සඳහන් වේ. අනුරාධපුර රාජධානි අවධියේ රජ කළ මහාචූලි මහා තිස්ස රජතුමා ශ්‍රමිකයෙකු ලෙස වෙස්වළාගෙන කුඹුරක අස්වනු නෙළීමට සහභාගි වීමේ කථා පුවතක් පිළිබඳ සඳහන් වේ.

## විවාහය

විවාහය යනු සෑම පුද්ගලයෙකුගේ ම ජීවිතයේ සුවිශේෂී අවස්ථාවකි. අතීත සමාජයේ විවාහය යන්න ඉතා ගෞරවනීය දෙයක් ලෙස සැලකිණ. ඒ මන්ද යත් පවුල නමැති ඒකකය ගොඩනැගෙන්නේ විවාහය නිසාය. අතීතයේ දී තම පවුලට, පෙළපතට ගැළපෙන විවාහයක් දූ පුතුන්ට සිදු කර දීමට දෙමාපියෝ වෙහෙසී කටයුතු කළහ. දෙමාපියන්ගේ කැමැත්ත හා ආශීර්වාද මැද සිරිත් විරිත් ඉටු කරමින් විවාහ ජීවිතයට ඇතුළු වීම අතීත ජන සමාජයේ පිළිගත් ක්‍රමය විය. චරිතවත් හා ගුණවත් ලෙස හැදී වැඩුණු දරුවන් වැඩිහිටියන්ගේ ප්‍රසාදයට ලක් විය. වර්තමානයේ මෙන් විසිතුරු විලාසිතාවන්ගෙන් යුක්තව නොවුණත් අතීත විවාහ ක්‍රමය චාම්, අර්ථවත් හා ගෞරවාන්විත ලෙස සිදු විය.

දෙමාපිය රැකවරණය යටතේ දියණියන් හැදී වැඩිය යුතු විය. ආහාර පිළියෙල කිරීම, නිවසේ පිරිසිදු කටයුතු, අලංකරණ කටයුතු සම්බන්ධව හොඳ පුහුණුවක් ඔවුන් ලැබිය යුතු විය.

දියණිවරුන් සූප ශාස්ත්‍රයෙන් (ආහාර පිසීම) දක්ෂයන් කිරීම, දෙමාපියන්ගේ වගකීමක් බව සහස්සවත්ථුපකරණයේ සඳහන් වේ.

සාලිය කුමාරයාගේ බිසව වූ අශෝකමාලා රසවත් ලෙස ආහාර පිළියෙල කළ බව සද්ධර්මාලංකාරයේ සඳහන් වේ.

සූප ශාස්ත්‍රයෙන් දක්ෂ කාන්තාවන් **මධුපාචිකා** යනුවෙන් මූලාශ්‍රයවල සඳහන් කර ඇත.

අතීතයේ දී දරුවන් තම පවුල පෝෂණය කිරීමට හා එය මනා ලෙස පවත්වාගෙන යාමට දෙමාපියන් යටතේ දී පුරුදු පුහුණු වූ ආකාරය අපට හොඳ ආදර්ශයකි.

## අවමංගල්‍ය

අතීත සමාජයේ අවමංගල්‍ය කටයුතු පිළිබඳව බලන විට විවිධ ජන කොටස්වලට වෙන් වූ සුසාන භූමි තිබී ඇත. ආදාහනය, ආදාහනයෙන් පසු භස්මාවශේෂ භූමදාන කිරීම සහ මෘත දේහ වනගත සොහොන්වල තැන්පත් කිරීම සිදු කර ඇත.

පණ්ඩුකාභය රාජ්‍ය අවධියේ මළ සිරුරු ගෙන යාමට සොහොන් පල්ලන් 150ක් ද චණ්ඩාල කුලයේ අය සඳහා වෙන ම ම සුසාන භූමියක් ද වෙන් කර තිබූ බව මහාවංසයේ සඳහන් වේ. මළ සිරුරු රෙද්දකින් ඔතා මැස්සක තබා හතර දෙනෙකු ඔසවාගෙන ගිය බව ඇතැම් මූලාශ්‍රයවල සඳහන් වේ.

යම් කිසි පුද්ගලයෙකු මියගිය පසු එම තැනැත්තාගේ ඥාතීන් ඊළඟට එම පවුලේ සිටින ප්‍රධානියාට ඇතැම් විට අවමංගල්‍ය කටයුතු සඳහා මිල මුදල් පරිත්‍යාග කර ඇත. කිසියම් ආර්ථික අපහසුතාවක් සිදු වුවහොත් ඊට පිළියමක් ලෙස එවැනි සත් කාර්යයන් සිදු කරන්නට ඇත. ඥාතියෙකුගේ, අසල්වාසියකුගේ විපතක දී හෝ දුකක දී නො පැකිලිව පිහිටවීමට ඉදිරිපත් වීම අපේ පැරණි ජනතාව සතු උසස් ගුණාංගයක් විය.

ආගමික ස්ථානයක් ඉදිරියෙන් ගමන් ගන්නා විට අවමඟුල් පෙරහරවල මළ බෙර වාදනය නො කිරීම ද එවකට පැවති චාරිත්‍රයකි.

## සිරිත් විරිත් හා සාරධර්ම

දිගු ඉතිහාසයක් ඇති අපේ සමාජය සිරිත් විරිත් හා සාරධර්මවලින් පොහොසත් ය. තම යුතුකම් ගැන සැලකිල්ලක් දක්වූ අතීත ජනයා වැඩිහිටියන්ට ගරු කිරීම, සැලකීම වැනි දේ නො පිරිහෙළා ඉටු කළහ. සාමාන්‍ය ජනතාව පමණක් නොව රජවරුන් ද තම දෙමාපියන්ට සැලකූ ආකාරය පිළිබඳ උදාහරණ මූලාශ්‍රයවලින් හමු වේ. අනුරාධපුර රාජධානි අවධියේ රජ කළ අටවන අග්ගබෝධි රජතුමා තම මවට ඇප උපස්ථාන කළ ආකාරය මහාවංසයේ සඳහන් වේ.

දිවා රාත්‍රී මවට උපස්ථාන කිරීමෙන් රජතුමා බොහෝ සතුටට පත්ව ඇත. අලුයම් කාලයේ දී ම එම උපස්ථාන කටයුතු පටන් ගෙන **"තෙල් ගල්වා, හිස පිරිමැද, දහඩිය පිරිසිදු කොට සුවඳ විලවුන් ගල්වා ඇය සැතැප්පී ය. නිය කපා පිරිසිදු කොට ඇය නැහැවී ය. සුව පහසු ඇඳුම් අන්දවා තම දැතින් ම කිලිටි වස්ත්‍ර පිරිසිදු කළේ ය"** යනාදි වශයෙන් මහාවංසයේ ඒ ගැන දක්වා තිබේ.

අතීත ජනයා ආගමානුකූල හා ධාර්මික ජීවිත ගත කළ පිරිසකි. තමාගේ ශක්ති ප්‍රමාණයෙන් දනමාන ආදිය දෙමින් කුසල් රැස් කර ගනිමින් යහපත් පුරවැසියන් ලෙස ජීවත් වූ පිරිසක් බව අතීත තොරතුරුවලින් පැහැදිලි වේ.

### ක්‍රියාකාරකම

අතීත ජන සමාජයෙන් වර්තමාන සමාජයට ගත හැකි ආදර්ශ යන මැයෙන් රචනාවක් ලියන්න.

### සාරාංශය

❖ කෘෂිකර්මාන්තය, කර්මාන්ත සහ වෙළෙඳාම අතීත ජනතාවගේ ප්‍රධාන ජීවනෝපාය ක්‍රම විය.

❖ හේන් වගාව අතීතයේ සිදු වූ මුල් ම වගා ක්‍රමය ලෙස සැලකේ. මේ වගා යටතේ ජනතාවගේ යැපීම සඳහා අවශ්‍ය ධාන්‍ය, අල වර්ග, එළවළු, පලතුරු නිෂ්පාදනය කෙරිණි.

❖ වී වගාව ද හේන් වගාවක් ලෙස සිදු කළත් ජනගහනය වැඩි වීමත් සමග මහා පරිමාණයෙන් කුඹුරු ගොවිතැන සිදු විය.

❖ වී වගා කරන කන්න දෙකක් පැවතිය ද අතීතයේ යල සහ මහ කන්නයට අමතර මැද කන්නයක් ද වගා කර ඇත.

❖ අනාගත පරිභෝජනය වෙනුවෙන් ආහාර සුරක්ෂිතතාව සඳහා අතීත ජනතාව පුරුදු පුහුණු වී සිටියහ. වී බිස්ස මීට හොඳ උදාහරණයකි.

❖ කර්මාන්ත ආශ්‍රිතව සුවිශේෂී හැකියාවන්ගෙන් යුතු පිරිස්වලින් සමන්විත ශිල්පී ශ්‍රේණි පැවතීම.

❖ ශ්‍රී ලංකාව අතීතයේ සිට ඉන්දියාව, ග්‍රීසිය, පර්සියාව, අරාබිය, චීනය සහ අග්නිදිග ආසියාතික රටවල් සමඟ දියුණු වෙළෙඳ සම්බන්ධතා පැවැත්වීම.

❖ අතීතයේ විසූ ජනතාව දෙමාපියන්ට සැලකීම වැනි උසස් ගුණාංග සහ සිරිත් විරිත් නොපිරිහෙළා ඉටු කරමින් අන්‍යෝන්‍ය සහයෝගයෙන් ජීවත් වූ පිරිසක් වීම.

# 2 අපේ කීර්තිමත් රජවරු

**හැඳින්වීම**

අනුරාධපුර රාජ්‍ය සමය මුල් භාගයේ අපේ රටේ සිටි ශ්‍රේෂ්ඨ පාලකයන් වූ පණ්ඩුකාභය, දේවානම්පිය තිස්ස, දුටුගැමුණු, වලගම්බා, වසභ, මහසෙන්, ධාතුසේන වැනි රජවරුන් ගැන හයවන ශ්‍රේණියේ දී ඔබට ඉගෙනීමට ලැබුණි. අනුරාධපුර රාජ්‍ය සමය අග භාගයේ හා පොළොන්නරු යුගයේ දී රටේ යහපත වෙනුවෙන් විශාල කැපවීමක් කළ කීර්තිමත් රජවරුන් කිහිප දෙනෙකු පිළිබඳ මෙම පාඩමෙන් විස්තර කෙරේ.

## මානවම්ම රාජ්‍ය සමයට පෙර පැවති දේශපාලන තත්ත්වය

වසභ රජතුමා ලම්බකර්ණ රජ පෙළපතට අයත් පාලකයෙකි. ධාතුසේන රජු මෞර්ය වංශිකයෙකි. අනුරාධපුර යුගයේ වැඩි කාලයක් මෙරට පාලන බලය දරන ලද්දේ ඉහත කී ලම්බකර්ණ හා මෞර්ය රජ පෙළපත්වලට අයත් පාලකයන් විසිනි. එහෙත් ඇතැම් අවස්ථාවල දේශපාලන බලය ලබා ගැනීම පිණිස මෙම රජ පෙළපත් දෙක අතර බල අරගල පැවතුණි. මානවම්ම රජතුමා බලයට පත්වීමට වසර 50කට පමණ පෙර කාලයේ දී ද ලම්බකර්ණ හා මෞර්ය රජ පෙළපත් අතර මෙබඳු දේශපාලන ගැටුමක් පැවතුණි. එම කාලපරිච්ඡේදයේ දී මෙරට දේශපාලන ක්ෂේත්‍රයේ දක්නට ලැබුණු කැපී පෙනෙන ලක්ෂණ කිහිපයක් පහත දැක්වේ.

- ✠ අභ්‍යන්තර ගැටුම් නිසා රටේ ස්ථාවර පාලනයක් බිහි නො වීම
- ✠ සටන් සඳහා රටේ සම්පත් විශාල ලෙස විනාශ වීම
- ✠ රාජ්‍ය බලය ලබා ගැනීමේ සටන් සඳහා දෙපාර්ශ්වයේ ම නායකයන් දකුණු ඉන්දියානු හමුද මෙරටට ගෙන්වීම
- ✠ දේශපාලන ගැටුම් හේතු කොට ගෙන රටේ ආර්ථික පරිහානියක් ඇති වීම

## මානවම්ම රජතුමා (ක්‍රි.ව. 684-718)

මානවම්ම යනු දෙවන කස්සප රජුගේ පුතෙකි. දෙවන කස්සප රජු ක්‍රි. ව. 650 දී පමණ බලයට පැමිණ වසර නවයක් රට පාලනය කළේ ය. කිසියම් රෝගයකින් දෙවන කස්සප රජු මිය යන විට මානවම්ම කුමරු බාල වයසේ පසු වූ බව පෙනේ. එසේ ම දෙවන කස්සප රජුගේ අභාවයෙන් පසුව ද පාලන බලය ලබා ගැනීම සඳහා ගැටුම් පැවතුණි. මෙම ගැටුම්වලට සම්බන්ධ නො වූ මානවම්ම කුමරු ආරක්ෂාව පතා අප්‍රසිද්ධව ජීවත් විය. එවකට පාලකයා වූ දෙවන දළ්ඨෝපතිස්ස රජු මානවම්ම කුමරුන් ගැන සෙවිල්ලෙන් පසු වූ හෙයින් එම කුමරු පසුව ඉන්දියාවට පලා ගියේ ය.

ඉන්දියාවේ පල්ලව රාජධානියට පලා ගිය මානවම්ම කුමරු පළමුවන නරසිංහවර්මන් නම් පල්ලව රජුට හිතවත්ව සේවය කර ඇත. මෙසේ මානවම්ම කුමරු පල්ලව රජුගේ සටන්වලට සහාය ලබාදීම නිසා ඒ රජතුමා, කුමරු ගැන පැහැදුණේය. ඒ නිසා පළමුවන නරසිංහවර්මන් රජු කෘතගුණ සැලකීමක් වශයෙන් මානවම්ම කුමරුට හමුදවක් ලබා දී ලංකාවට පැමිණ බලය ලබා ගැනීමට උපකාර කළේ ය. මානවම්ම කුමරුන් එම හමුදව සමග මෙරටට පැමිණ දෙවන දළ්ඨෝපතිස්ස රජුට එරෙහිව සටන් ආරම්භ කර ඇත. එහෙත් සටන කරගෙන යද්දී ඉන්දියාවේ සිටි පල්ලව රජුට අසනීප වීම නිසා සහායට පැමිණි හමුදවෝ ඉන්දියාවට ගියහ. මේ නිසා සටන අතර මග නතර කොට ආරක්ෂාව පතා මානවම්ම කුමරුට ද යළි ඉන්දියාවට යාමට සිදු විය. මෙසේ නැවත වරක් ඉන්දියාවට ගිය මානවම්ම කුමරු තම අරමුණ ඉටු කර ගැනීම සඳහා සහායක හමුදවක් ලබා ගැනීමට තවත් වසර 20ක් පමණ පල්ලව රජුට සේවය කළේ ය.

එවකට පල්ලව රජු වූ දෙවන නරසිංහවර්මන් නැවත වරක් හමුදවක් ලබා දුන් හෙයින් එම හමුදවන් සමග ලංකාවට පැමිණි මානවම්ම කුමරු මෙරට පාලකයා වශයෙන් සිටි හත්ථදාඨ රජු පරාජයට පත් කොට ක්‍රි. ව. 684 දී රජකම ලබා ගත්තේ ය.

මානවම්ම කුමරුන් රජකමට පත්වීම මෙරට ඉතිහාසයේ වැදගත් සිදුවීමකි. මානවම්ම කුමරු බලයට පත් වීමට පෙර වසර 50ක පමණ කාලයක් රටේ අභ්‍යන්තර ගැටුම් උත්සන්නව පැවතීම නිසා දේශපාලන තත්ත්වය හා ආර්ථිකය පිරිහී තිබුණි. වසර 20කට වැඩි කාලයක් පල්ලව රාජ්‍යයේ ගත කිරීමට සිදුවීම නිසා මානවම්ම කුමරුට රජකම ලබා ගැනීමට හැකි වූයේ ජීවිතයේ මැදි වයසේ දී පමණ ය. එහෙත් තවත් වසර 35ක් පමණ දිගු කාලයක් මෙරට පාලන කටයුතු මෙහෙයවීමට මානවම්ම රජුට හැකියාව ලැබුණි. මේ නිසා නැවත වරක් රටේ දේශපාලන ස්ථාවරත්වයක් ඇති විය. මෙතුමාගේ කාලයේ දී රටේ සාම්ප්‍රදායික පරිපාලන තන්ත්‍රය නැවත පිහිටුවූ බව පෙනේ. එවක රජකම උරුමයට හිමිවීමේ සාම්ප්‍රදායික පිළිවෙත ද නැවත ආරම්භ විය.

අධිෂ්ඨානශීලීව හා ඉවසිලිවන්තව කටයුතු කිරීමෙන් තම අරමුණ ජයගත හැකි බව එතුමාගේ චරිතයෙන් පෙනේ. මානවම්ම රජුගෙන් පසු එතුමාගේ දරුවෝ පිළිවෙළින් රජකමට පත් වූහ. මානවම්ම රජුගේ පෙළපත අනුරාධපුර යුගය අවසානය දක්වා තවත් වසර 300ක් පමණ පැවතුණි.

## පළමුවන සේන රජතුමා (ක්‍රි.ව. 833-853)

පළමුවන සේන යනු මානවම්ම පරපුරට අයත් දෙවන දප්පුල රජුගේ පුතෙකි. දෙවන දප්පුල රජු වසර 16ක් පමණ රජකම් කොට මිය යාමෙන් පසුව ඔහුගේ පුතෙකු වූ නවවන අග්ගබෝධි බලයට පත් විය. ඔහුගේ පාලන කාලය වසර තුනකි. අනතුරුව අග්ගබෝධිගේ සහෝදරයා වූ පළමුවන සේන රජු ක්‍රි. ව. 833 දී රජකමට පත් වූයේ ය. පළමුවන සේන රජුගේ පාලන කාලය වසර විස්සකි. ඔහුගේ පාලන කාලයේ මුල් භාගයේ දී ලංකාවට පාණ්ඩ්‍ය ආක්‍රමණයක් එල්ල විය. මේ කාලයේ දී දකුණු ඉන්දියාවේ පාණ්ඩ්‍ය රාජ්‍ය බලවත් වෙමින් පැවතිණි. **ශ්‍රී මාර ශ්‍රී වල්ලභ** නම් පාණ්ඩ්‍ය රජු විශාල හමුදවක් සමග මෙරට ආක්‍රමණය කළ විට පළමුවන සේන රජුගේ හමුදව පරාජයට පත් විය. සේන රජු වෙනුවෙන් සටන් බිමට ගිය රජුගේ සහෝදරයෙකු වූ යුව රජු මහින්ද කුමරුන් හා ආදිපාද කස්සප කුමරුන් ද සටනේ දී මියගොස් ඇත. තම හමුදව පරාජයට පත් වීමත් සමග පළමුවන සේන රජු ආරක්ෂාව පතා මලය ප්‍රදේශයට පලා ගියේ ය.

අනුරාධපුර නගරයට ඇතුළු වූ පාණ්ඩ්‍ය හමුදවෝ එම නගරය මුළුමනින් ම කොල්ල කෑහ. පසුව පාණ්ඩ්‍ය රජු හා සේන රජු අතර සාම ගිවිසුමක් ඇති වූ හෙයින් පාණ්ඩ්‍යයෝ සේන රජුට නැවත රාජ්‍ය පවරා ආපසු ඉන්දියාවට ගියහ. මේ ආක්‍රමණයේ අරමුණ ලංකාව යටත් කර ගැනීමට වඩා වටිනා වස්තුව කොල්ලකෑම බව පෙනේ. නැවත අගනුවරට පැමිණි පළමුවන සේන රජු ආක්‍රමණික හමුදව අතින් විනාශ වූ ප්‍රදේශ යළි යථා තත්ත්වයට පත් කිරීමට වෙහෙසුණි. ඊට අමතරව රිටිගල ආරාමය, ජේතවනාරාමය, අභයගිරිය වැනි විහාරාරාම ආශ්‍රිතව නව ඉදි කිරීම් රැසක් ද කරවා තිබේ.



රූපය 2.1 රිටිගල පෙත්මඟ

රජුගේ සහෝදරයන් දෙදෙනෙකු පාණ්ඩ්‍යයන් හා කළ සටනෙන් මිය ගිය හෙයින් තවත් සහෝදරයෙකු වූ උදය කුමරු යුව රජකමට පත් කෙරිණි. එහෙත් උදය කුමරු ටික කලකින් කිසියම් රෝගයකින් මිය ගියේ ය. මේ නිසා ඉහත සටනේ දී මිය ගිය කස්සප කුමරුගේ වැඩිමහල් පුතු වූ සේන කුමරු යුව රජ තනතුරට පත් කොට ඔහුට රුහුණේ පාලන කටයුතු භාර කෙරිණි.

## දෙවන සේන රජතුමා (ක්‍රි. ව. 853-887)

දෙවන සේන යනු පළමුවන සේන රජුගේ සහෝදරයෙකු වූ පාණ්ඩ්‍ය ආක්‍රමණයේ දී මිය ගිය ඉහත කී කස්සප ආදිපාදයන්ගේ පුතෙකි. පළමුවන සේන රජුගේ අභාවයෙන් පසුව එවකට යුව රජ තනතුර දරමින් සිටි දෙවන සේන රජකමට පත් විය. ඔහුගේ රාජ්‍ය කාලය වසර තිස්පහක් පමණ වන අතර එම කාලයේ දී රටේ සාමය පැවතුණි. දේශපාලන වශයෙන් පැවති සාමකාමී තත්ත්වය නිසා රටේ පැරණි ශ්‍රී විභූතිය නැවත ඇති කරමින් ආර්ථික හා ශාසනික ක්ෂේත්‍රයේ විශාල වැඩ කොටසක් සිදු කිරීමට දෙවන සේන රජුට හැකියාව ලැබුණි.

පළමුවන සේන රජුගේ කාලයේ දී සතුරු ආක්‍රමණ නිසා විනාශ වූ සියල්ල යළි ගොඩනැගීමේ කටයුතු දෙවන සේන රජු විසින් සම්පූර්ණ කරන ලදි. ශාසනික චිරස්ථිතිය සඳහා සිදු කළ සේවයට අමතරව මිහින්තලේ රෝහලක් කරවීම, මහවැලි ගඟේ මණිමේකලා (මිනිපේ) නම් ප්‍රදේශයේ අමුණක් අලුත්වැඩියා කරවීම, මින්නේරිය වැවේ සොරොව්වක් තැනවීම ආදිය දෙවන සේන රජුගේ මහජන ශුභ සිද්ධියට අදාළ කටයුතුවලට උදාහරණ වේ.

පාණ්ඩ්‍ය රාජධානිය ආක්‍රමණය කිරීම ඔහුගේ රාජ්‍ය කාලයේ කැපී පෙනෙන සිදුවීමකි. පළමුවන සේන රජුගේ කාලයේ පාණ්ඩ්‍යයන් මෙරට ආක්‍රමණය කොට වස්තුව පැහැරගෙන යාම ගැන මේ රජුගේ සිතේ වේදනාවක් තිබෙන්නට ඇත. එබැවින් සිදු වූ අපකීර්තිය මකා දමා පාණ්ඩ්‍යයන් පැහැරගෙන ගිය වස්තුව යළි මෙරටට රැගෙන ඒමට එතුමා අවස්ථාවක් සොයමින් සිටියා විය හැකි ය. පාණ්ඩ්‍ය කුමරෙකු වූ **දෙවන වරගුණවර්මන්** කුමාරයා පාණ්ඩ්‍ය රාජ්‍ය උරුමය සඳහා කළ සටනක දී ආධාර ඉල්ලාගෙන මෙරටට පැමිණීම නිසා ඔහුට සහය පිණිස පාණ්ඩ්‍ය රාජධානිය



**රූපය 2.2 මිහින්තලේ පැරණි රෝහල් භූමියේ නටබුන්**

ආක්‍රමණය කිරීමට දෙවන සේන රජුට සිදු විය.

දෙවන සේන රජු තම දක්ෂ සෙන්පතියෙකු වූ **කුට්ඨක** සෙනෙවියාගේ ප්‍රධානත්වයෙන් යුත් බලවත් හමුදවක් පාණ්ඩ්‍ය දේශය ආක්‍රමණයට යැවී ය. පාණ්ඩ්‍ය හමුදව හා ලාංකික හමුදව අතර ඇති වූ සටනෙන් පාණ්ඩ්‍ය හමුදවෝ පරාජයට පත් වූහ. පාණ්ඩ්‍ය අගනුවර වූ **මදුරාපුරය** වටලා ලාංකික හමුදව එල්ල කළ ප්‍රහාරයේ දී **ශ්‍රී මාර ශ්‍රී වල්ලභ** නම් පාණ්ඩ්‍ය රජු ද මරණයට පත් විය. **වරගුණවර්මන්** කුමාරයා ලාංකික හමුදව විසින් පාණ්ඩ්‍ය සිංහාසනයට පත් කරන ලදි. මෙහි දී පාණ්ඩ්‍යයන් ලංකාවෙන් පැහැරගෙන ගොස් තිබූ වස්තුව පමණක් නො ව පාණ්ඩ්‍යයන්ගේ වස්තු සම්භාරයක් ද රැගෙන ලාංකික හමුදවෝ ජයග්‍රාහී ලීලාවෙන් යළි මෙරටට පැමිණියහ. දෙවන සේන රජු ලැබූ මෙම ජයග්‍රහණය ගැන මෙරට සෙල්ලිපි කිහිපයක සඳහන් වේ. අනුරාධපුර දිස්ත්‍රික්කයේ පිහිටි **ඉරිපින්නියාව** නම් ස්ථානයෙන් ලැබුණු සෙල්ලිපියක කුට්ඨා සෙනවිරදණන් යනුවෙන් සඳහන් වනුයේ පාණ්ඩ්‍ය ආක්‍රමණය මෙහෙයවූ කුට්ඨක සෙනෙවියා ගැන බව පැහැදිලි ය.

## අනුරාධපුර යුගයේ රාජ්‍ය පාලන සංවිධානය

### මධ්‍ය පාලනය

රජු හා රජුට සහාය වූ නිලධාරින් පිරිසක් මගින් රට පුරා බල පැවැත්වෙන ලෙස සංවිධානය වී තිබූ පාලන තන්ත්‍රය මධ්‍ය පාලනය ලෙස සැලකිය හැකි ය. රජතුමා මධ්‍ය පාලනයේ ප්‍රධානියා විය. එක් රජ කෙනෙකුට පසුව ඊළඟ රජු බලයට පත් වූයේ රජකම උරුම වීමේ සාම්ප්‍රදයික ක්‍රමයකට අනුව ය. අනුරාධපුර යුගයේ දී බහුල වශයෙන් පැවති රජකම උරුම වීමේ ක්‍රම දෙකක් තිබුණි.

✦ පියාගෙන් පසුව පුතාට රජකම උරුම වීම

උදහරණය : පණ්ඩුකාභය රජුගෙන් පසුව එතුමාගේ පුත් මුටසිවට රජකම උරුම වීම

✦ වැඩිමහල් සහෝදරයාගෙන් පසුව බාල සහෝදරයාට රජකම උරුම වීම

උදහරණයඃ දුටුගැමුණු රජුගෙන් පසුව එතුමාගේ සහෝදර සද්ධාතිස්ස කුමරුට රජකම උරුම වීම

අනාගත රජකම උරුම කුමරාට ළමා අවදියේ දී හොඳ අධ්‍යාපනයක් ලබා දීමට රජවරු සැලකිලිමත් වූහ. භාෂාව හැදෑරීම හා ලේඛන කටයුතු පිළිබඳ ශාස්ත්‍රීය අධ්‍යාපනය ලබා දෙන ලද්දේ බොහෝ විට භික්ෂූන් වහන්සේලා විසිනි. පාලකයෙකුට එකල අවශ්‍ය වූ කඩු ශිල්පය, දුනු ශිල්පය වැනි ශිල්පීය අධ්‍යාපනය ඒ ඒ විෂය ප්‍රවීණයන් යටතේ සිදු විය.

නව රජ කෙනෙකු බලයට පත් වූ පසුව අභිෂේක උත්සවයක් පැවැත්වීමේ සිරිතක් තිබුණි. රජෙකුගේ අභිෂේකය යනු ඔහුගේ වගකීම නිත්‍යානුකූලව භාර ගැනීම වැනි අවස්ථාවකි.

රටේ මධ්‍ය පාලනයේ ඉහළ ම තැනැත්තා රජු වූ බැවින් ඔහුට අයත් කාර්යයන් රැසක් තිබුණි. පහත සඳහන් කටයුතු එබඳු කාර්යයන්ට උදහරණ වේ.

- ✶ රටේ නීතිය හා සාමය පවත්වාගෙන යාම.
- ✶ බාහිර හා අභ්‍යන්තර සතුරු උවදුරුවලින් රට ආරක්ෂා කර ගැනීම.
- ✶ මධ්‍ය පාලනයට හා ප්‍රදේශීය පාලනයට අවශ්‍ය නිලධාරින් පත් කිරීම.
- ✶ රටේ ආර්ථික කටයුතු හැසිරවීම හා අයබදු පැනවීම.
- ✶ අධිකරණ කටයුතු මෙහෙයවීම.

රාජ්‍ය පාලන කටයුතුවල දී රජුට සහාය වූ නිලධාරිහු පිරිසක් සිටියහ. **යුවරජු** (අනාගත රජකම උරුම තැනැත්තා), **සේනාපති, භාණ්ඩාගාරික, මහා ලේඛක** (ලේඛන කටයුතු භාර ප්‍රධානියා) එම නිලධාරි පිරිස අතර කැපී පෙනුණි. රජුට සහාය වූ මෙබඳු නිලධාරීන්ගෙන් සමන්විත රාජ සභාවක් පැවතුණි. රටේ වැදගත් ප්‍රශ්න සාකච්ඡා කිරීම සඳහා රජුගේ ප්‍රධානත්වයෙන් රාජ සභාව රැස් වූ බව නිසැක ය. අනුරාධපුර යුගයේ ඇතැම් ශිලා ලිපිවල **'අදෙකවරු'** නම් නිලධාරීන් පිරිසක් ගැන සඳහන් වේ. මෙය සංස්කෘත භාෂාවේ අධ්‍යක්ෂ යන්නට සමාන පදයකි.

**'අශ අදෙක'** අශ්ව අධ්‍යක්ෂ (අශ්වයන් පිළිබඳ කාර්යාංශයේ ප්‍රධානියා)

**'අති අදික'** හස්ති අධ්‍යක්ෂ (ඇතුන් පිළිබඳ කාර්යාංශයේ ප්‍රධානියා)

ඉහත උදාහරණවලින් දක්වෙන අදෙක/අදික යන නිලධාරීන් ඒ ඒ දෙපාර්තමේන්තු හෙවත් කාර්යාංශ භාර ප්‍රධානීන් ලෙස සැලකිය හැකි ය.

මානවම්ම රජු බලයට පත් වීමට පෙර රටේ අභ්‍යන්තර ගැටුම් පැවති සමයේ දී සාම්ප්‍රදායික රාජ්‍ය උරුමය නො සලකා ඇතැම් අය බලය ලබා ගෙන ඇත. එහෙත් මානවම්ම පෙළපත බලයේ සිටි කාලයේ දී පැරණි රාජ්‍ය උරුම ක්‍රමය නැවත යථා පරිදි ක්‍රියාත්මක විය. මේ යුගයේ ඇතැම් රජවරු ශිලා ලිපි පිහිටුවීමේ දී තමා **ඈපා** (ආදිපාද) **මාපා** (මහාදිපාද) පදවි දරමින් පිළිවෙළින් රජ පැමිණි බව කියා තිබේ. ඈපා, මාපා වැනි ඉහළ තනතුරුවලට පත් වූයේ රජ පවුලේ කුමාරවරුන් ය. මේ නිසා එම තනතුරු දැරීමෙන් අනාගත රාජ්‍ය පාලනයට අවශ්‍ය පුහුණුවක් ලැබුණු බව පෙනේ.

## ප්‍රාදේශීය පාලනය

අනුරාධපුර යුගයේ දී රාජ්‍ය මැනවින් සංවිධානය වූ පරිපාලන ඒකකවලට බෙදා තිබුණි. රජුගේ ප්‍රධානත්වයෙන් පැවති මධ්‍යගත පාලනයට අමතරව ඒ ඒ ප්‍රදේශ භාර නිලධාරීන් මගින් ප්‍රාදේශීය පාලනය ක්‍රියාත්මක විය. රටේ අගනුවර වූ අනුරාධපුර නගරය අවට ප්‍රදේශ උතුරු, දකුණු, නැගෙනහිර හා බස්නාහිර වශයෙන් දිසා අනුව කොටස්වලට බෙදා තිබුණි. මීට අමතරව රට හෙවත් **රට්ඨ** යනුවෙන් හැඳින්වූ පරිපාලන ප්‍රදේශ පැවතුණි. මේවායේ පරිපාලන කටයුතු මෙහෙයවූ නිලධාරීන් **රට්ලද්දු** හෙවත් **රටලද්දන්** වශයෙන් හැඳින්විණි.

අගනුවරට බැහැරින් පිහිටි ප්‍රදේශ, මලය රට, මායා රට හා රුහුණ වශයෙන් වෙන වෙන ම පරිපාලන නිලධාරීන් යටතේ පැවතුණි. රාජ්‍යයේ කුඩා ම පරිපාලන ඒකකය **ගම** විය. අනුරාධපුර යුගයේ මුල් කාලයේ ගම් පාලනය කළ පිරිස **ගමික** යනුවෙන් හඳුන්වා ඇත. අනුරාධපුර යුගය අවසාන භාගයේ දී ගම් පාලනය කළ අය **ගම්ලද්දන්** ලෙස හඳුන්වා තිබේ.

## රාජ්‍ය ප්‍රතිපත්ති හා සමාජ ශුභසාධනය

රාජ්‍ය ප්‍රතිපත්ති ක්‍රියාත්මක කිරීමේ දී පහත සඳහන් කරුණු කෙරෙහි අනුරාධපුර යුගයේ සිටි රජවරු විශේෂ සැලකිල්ලක් දැක්වූහ.

- ✶ රටේ ආරක්ෂාව සැලසීම
- ✶ නීතිය හා සාමය පවත්වාගෙන යාම
- ✶ ආර්ථික ශුභසිද්ධිය ඇති කිරීම
- ✶ ශාසනික අභිවෘද්ධියට කටයුතු කිරීම

මානවම්ම පෙළපත බලයේ සිටි කාලයේ දී ද මෙම මූලික ප්‍රතිපත්ති එලෙස ම ක්‍රියාත්මක වූ බව පෙනේ.

## රටේ ආරක්ෂාව සැලසීම

රටේ ආරක්ෂාව සැලසීමේ දී රජුගේ සේනාපති, හමුදාව හා ප්‍රාදේශීය අධිපතියෝ රජුට සහාය වූහ. අනුරාධපුර යුගය මුල්

## අස්පෘශ්‍ය උරුමය

"පුතේ ගොම්මන් වෙලාවට තනියම දියකඩිති ගානේ ඇවිදින්න යන්න එපා" යැයි ඔබේ ආච්චිලා සහ සීයලා පවසනු ඇතැම් විට ඔබ අසා ඇත. එයින් ඇඟවෙන්නේ හිරු බැස යන වෙලාවක තනියම ගමන් බිමන් යාම සුදුසු නැති බවට අපේ විශ්වාසයක් පැවති බවයි. එවැනි විශ්වාස, සිරිත් විරිත් පිළිබඳ ආච්චිලා සහ සීයලා අපට කියා දුන් අයුරු තාම මතක ය. ඔවුන්ට ඒවා පිළිබඳ අවබෝධය ඔවුන්ගේ වැඩිහිටියන් විසින් ලබා දෙන්නට ඇත. එසේ පරම්පරාවෙන් පරම්පරාවට ඒ ඒ ජන කණ්ඩායම් රැගෙන එන සංස්කෘතික උරුමය අස්පෘශ්‍ය උරුමය ලෙස හඳුන්වයි. පැරණි ගොඩනැගිලි, චිත්‍ර, මූර්ති මෙන් මෙම උරුමය ස්පර්ශ කළ නොහැකිය. විවිධ රටවල, සමාජයන්හි අනන්‍යතාව විද්‍යමානවන ආකාර පහක් අස්පෘශ්‍ය උරුමය වශයෙන් යුනෙස්කෝ සංවිධානය, හඳුන්වාදී ඇත. ඒවා නම්,

1. ජනවහර හා අදහස් ප්‍රකාශ කිරීම
2. රංග කලාව, ජනකවි, ජන සංගීත
3. සමාජීය පුරුදු, ඇදහිලි, විශ්වාස සහ උත්සව
4. ස්වභාවධර්මය හා බාහිර ආභාසයෙන් ඇති වූ දැනුම හා පුරුදු
5. සාම්ප්‍රදායික කලා ශිල්ප ආදිය වේ.

ඉහත ක්ෂේත්‍ර අනුව අප මාතෘ භූමියෙන් අපට උරුම වූ අස්පෘශ්‍ය උරුමයන් මගින් අපේ අනන්‍යතාව හඳුනාගත හැකි ය. දැන් අපි ඒ පිළිබඳව සොයා බලමු.

## ජනවහර හා අදහස් ප්‍රකාශ කිරීම

මෙරට වර්තමානයේ කතා කරන සිංහල භාෂාවට වසර දෙදහස් පන්සියයක පමණ ඉතිහාසයක් ඇති අතර දෙමළ භාෂාවට ද එබඳු ම ඉතිහාසයක් තිබේ.

මෙසේ දිගු කාලයක් එම භාෂා භාවිත කිරීම නිසා ඒවාට ම ආවේණික භාෂා ශෛලීන් ගොඩනැගී තිබේ. එසේ ම උපමා, රූපක, ආප්තෝපදේශ සහ පිරුළු වැනි විවිධ ලේවලින් මෙම භාෂා පෝෂණය වී තිබේ.

සිංහල භාෂාවට දෙමළ බසෙන් මෙන් ම අතීතයේ පැවති වෙනත් භාෂාවලින් ද ආභාසය ලැබී ඇත. දෙමළ භාෂාව ද සමකාලීන වෙනත් භාෂාවලින් පෝෂණය වූවකි. එබැවින් භාෂාව ව්‍යවහාරය කරන ආකාරය පිළිබඳ ලංකාවට ම ආවේණික ශෛලියක් හා සම්ප්‍රදායක් පවතී. එය අපේ අස්පෘශ්‍ය උරුමයකි.

## රංග කලාව

වර්තමානයේ අපේ සංස්කෘතිය හා බැඳුණු රංග කලාවක් මෙරට පවතී. එය ද අතීත උරුමයේ ප්‍රතිඵලයකි.

රුවන්වැලි සෑයට මුල්ගල් තැබීමේ උත්සවයේ දී දුටුගැමුණු රජතුමා දිව්‍ය කන්‍යාවන් හා සමාන නාටිකාවන් සහ නොයෙක් තූර්ය නාදයන් සහිත සමූහයක් පිරිවරාගෙන පුදබිමට පැමිණි බව මහාවංසයේ සඳහන් වේ.

වර්තමානයේ ඇතැම් උත්සවවලට විශේෂ ආරාධිතයන් කැඳවාගෙන ඒමේ දී නැටුම් ගැයුම් තූර්යවාදන යොදා ගනු ඔබ දැක ඇත. එය අතීතයේ සිට මෙරට පවතින සම්ප්‍රදායක් බව දුටුගැමුණු රජතුමා පිළිබඳ උදාහරණයෙන් පෙනේ.

පළමුවන පරාක්‍රමබාහු රජුගේ කාලයේ දී විවිධ අවස්ථාවල නැටුම් ගැයුම් පැවති බව වාර්තා වේ. එතුමා නැටුම් ගැයුම් පැවැත්විය හැකි ගොඩනැගිලි පවා ඉදි කරවා ඇත. එම රජුගේ බිරිඳ වූ **රූපවතී බිසව** නැටුම් ගැයුම් සඳහා දක්ෂතාවක් තිබූ කාන්තාවක බව මහාවංසයේ දැක්වේ.

ශ්‍රී ලංකාවේ අතීතයේ පැවති නැටුම් ගැයුම් ආදි කලා කටයුතු ගැන මහාවංසය, කව්සිළුමිණ සහ සද්ධර්මාලංකාරය වැනි කෘතිවල සඳහන් වේ. දෙවන පරාක්‍රමබාහු රජතුමා 'නානාප්‍රකාර නැටුමෙන් හා මධුර ගීතිකායෙන් යුත්' උත්සවයක් පැවැත්වූ බව මහාවංසය කියයි. අතීත නැටුම්, ගැයුම් කටයුතුවල දී විවිධ බෙර වර්ග, වීණාව, නලාව වැනි තූර්ය භාණ්ඩ භාවිත කර ඇත. පැරණි නැටුම් ගැයුම් කලාවේ ඇතැම් ශේෂයන් සාම්ප්‍රදායික ශාන්තිකර්ම තුළ ද දක්නට ලැබේ. මහනුවර ඇසළ පෙරහැර මෙබඳු නැටුම් ගැයුම් දක්නට ලැබෙන තවත් අවස්ථාවකි.

බොහෝ විට රංග කලාව ආගමික පුද පූජා පැවත්වීම සඳහා යොද ගත් බව පැහැදිලි වේ. විසිතුරු ඇඳුමින් සැරසී විවිධ පුද පූජා පැවැත්වීම සඳහා ශිල්පීන් රංගනයේ යෙදී ඇත. වර්තමානයේ දී ආගමික උත්සව පමණක් නොව වෙනත් විවිධ උත්සව අවස්ථාවන් සඳහා ද නැටුම්, ගැයුම්, තූර්යවාදන යොද ගත් අවස්ථා ඔබ දැක ඇත. එය අපේ අස්පෘශ්‍ය උරුමය ලෙස හැඳින්විය හැකි ය.

## ජන කවි

ජන කවිය ද අපේ සංස්කෘතික උරුමයේ කොටසකි. මෙරට බොහෝ ප්‍රදේශවල ඒ ඒ පෙදෙස්වලට ආවේණික වූ ජන කවි පවතී. එම ජන කවි වර්තමාන පරම්පරාවට ලැබී ඇත්තේ ඊට පෙර සිටි වැඩිහිටියන්ගේ ගායනාවලට සවන් දීමෙනි. එනම් මුඛ පරම්පරාගතව ය. එබැවින් ජන කවි හා විවිධ ජන ගායනා ආදිය ද පරපුරෙන් පරපුරට පැවත ආ අස්පෘශ්‍ය උරුමයක් ලෙස සැලකිය හැකි ය. ධාතුසේන රජතුමා කලා වැව තැනවීම ගැන අනුරාධපුර ප්‍රදේශයේ පවතින ජනකවියක් මෙසේ ය.

| | |
|---|---|
| කලා ඔයේ දිය පහරට යන්ට | බැරී |
| හිටියේ කල වැලක් ඔය හරහට | වැතිරී |
| එතන හොඳයි වැවකට දිය කඳ | ඉතිරී |
| කලා වැව බැන්දෙ දසෙන් රජුය පින් | පිරී |

මෙබඳු ජනකවි නිර්මාණය කළ තැනැත්තා හෝ කාලය පිළිබඳ තොරතුරු බොහෝ විට අප්‍රකට ය. පැරණි ගොයම් කවි, පැල් කවි, කරත්ත කවි, පතල් කවි, පාරු කවි ආදිය, වෙහෙස මහන්සිය නිවා ගැනීම, තනිකම පාළුව මගහරවා ගැනීම පිණිස ප්‍රබන්ධ කොට ගායනා කළ ඒවා වේ. ඒ ඒ කටයුතුවල දී අතීත මිනිසුන් ලැබූ අද්දැකීම් හා විවිධ වෘත්තීන්වල එකල ස්වභාවය ආදිය තේරුම් ගැනීමට ද මෙබඳු ජන කවි වැදගත් වේ.

එසේ ම දෙමාපියන්ගේ සහ වැඩිහිටියන්ගේ ගුණ ගැයීම, දරු සෙනෙහස ප්‍රකාශ කිරීම, බාල පරපුර සුමගට ගැනීම, කුසගින්න දැක්වීම, ඥාතීන් අතර සම්බන්ධතා ප්‍රකාශ කිරීම සඳහා ද ජන කවිය යොදගෙන තිබේ. ඒ අනුව සිතක උපන් සංවේදී හැඟීමක් නිර්මාණාත්මකව ප්‍රකාශ කිරීමත් එය තාලයකට අනුව ගායනා කොට වින්දනයක් ලබා ගැනීමත් ජන කවියෙන් සිදුව තිබේ. මෙවැනි නිර්මාණාත්මක ජන ගීත ඕනෑ ම සමාජයක ජන කණ්ඩායම් සතු ය.

**ක්‍රියාකාරකම**

ජන කවි ඇතුළත් පොතක් සකස් කරන්න.

## සමාජීය පුරුදු හා විශ්වාස

විවිධ සමාජීය පුරුදු හා ඇදහිලි විශ්වාස ආදිය ද පරපුරෙන් පරපුරට පැමිණි අස්පෘශ්‍ය උරුමයකි. විහාරස්ථාන හෝ දේවස්ථානවලට ඇතුළු වීමේ දී පාවහන් හා හිස්වැසුම් ගැලවීම, දෙමාපියන්ට වැඩිහිටියන්ට හා ගුරුවරුන්ට දණ ගසා වැඳීම හා ගෞරව කිරීම, අත් සෝදා ආහාර ගැනීම, සතුන්ට කරුණාව දැක්වීම, නැති බැරි අයට උපකාර කිරීම වැනි දේ පරපුරෙන් පරපුරට උරුම වූ යහපත් පුරුදුවලට උදහරණ වේ. මෙබඳු සාම්ප්‍රදයික උරුමයන් දැකීමෙන් අප තුළ නිහතමානීකම කරුණාව, දයාව, ආචාරශීලීභාවය වැනි උසස් ගුණාංග වර්ධනය වේ.

## උත්සව පැවැත්වීම

වර්තමාන සමාජයේ විවිධ උත්සව පවතින බව ඔබ දැක ඇත. අතීත සමාජයේ ද මිනිසකුගේ උත්පත්තියේ සිට මරණය දක්වා විවිධ උත්සව පැවතුණි. අනුරාධපුර රාජ්‍ය සමය තරම් ඈත කාලයේ ඇතැම් උත්සව මෙරට සමාජයට හුරු වූයේ අසල්වැසි ඉන්දියාවේ පැවති හින්දු සිරිත් විරිත්වල ආභාසයෙනි. කෙනෙකුගේ උත්පත්තියේ සිට අධ්‍යාපන කටයුතු ආරම්භ කරන තෙක් ඉටු කළ යුතු සිරිත් විරිත් ගැන පැරණි හින්දු පොත් පත්වල සඳහන් වේ. එබඳු අවස්ථා කිහිපයක් පහත දැක්වේ.

**ජාත කර්ම** - උපතේ දී සිදු කළ යුතු සිරිත් විරිත්,

**නාමකරණ** - නම් තැබීම

**කර්ණවේදන** - කන්විදීම

**අන්නප්‍රාශාන** - ඉඳුල් කටගෑම

**විද්‍යාරම්භ** - අධ්‍යාපනය ඇරඹීම (අකුරු කියවීම)

ලංකාවේ ද අතීතයේ සිට ම කෙනෙකුගේ උත්පත්තියෙන් පසුව නම් තැබීම, ඉඳුල් කටගෑම, අකුරු කියවීම, විවාහය වැනි අවස්ථාවල උත්සව පැවැත්වීමේ සිරිතක් පැවතුණි.

පරපුරෙන් පරපුරට උරුම වීමෙන් වර්තමානයේ පවා මෙබඳු අවස්ථාවල උත්සව පැවැත්වේ. මේවා බොහෝ විට නිවාස ආශ්‍රිතව සිදු කරන උත්සව වේ. ඊට අමතරව ජනතාව එකතු වී පවත්වන පොදු උත්සව රැසක් ද පවතී. රජරට ශිෂ්ටාචාර සමයේ දී පැවැත්වූ එබඳු උත්සව කිහිපයක් පහත දැක්වේ.

**වෙසක් උත්සවය**

**ජල ක්‍රීඩා උත්සවය**

**වප්මඟුල් උත්සවය**

වර්තමාන සමාජයේ ද වර්ෂයේ යම් යම් කාල පරිච්ඡේදවල පවත්වන උත්සව රැසක් පවතී. වෙසක් උත්සවය, ඇසල පෙරහර, උපසම්පදා උත්සවය ආදියට අතීතයේ සිට පැවති යම් යම් උත්සව හා සිරිත් විරිත්වල ආභාසය ලැබී තිබේ. ඒවා ද පරපුරෙන් පරපුරට පැමිණි අස්පෘශ්‍ය උරුමවේ.

අපේ රටේ බෞද්ධ, හින්දු, ඉස්ලාම් හා ක්‍රිස්තියානි ආදි විවිධ ආගම් අදහන ජනතාව ජීවත් වෙති. ඒ ඒ ආගම් හා සංස්කෘතීන්වල චාරිත්‍ර වාරිත්‍ර ආදිය විවිධ වේ. සිංහල අවුරුදු උත්සවය බොහෝ විට බෞද්ධ සිරිත් විරිත්වලට මුල් තැනක් දී පැවැත්වේ. හින්දු ජනතාවගේ තෛපොංගල් උත්සවය හා ඉස්ලාම් ජනතාවගේ රාමසාන් උත්සවය ආදියෙහි ඒ ඒ ආගමික සිරිත් විරිත්වලට මුල් තැනක් ලැබේ. මේ සියලු උත්සව සමඟ බැඳි සිරිත් විරිත් පරපුරෙන් පරපුරට පැමිණි අස්පෘශ්‍ය උරුමයකි.



රූපය 3.18 මහනුවර දළදා පෙරහැර

### ක්‍රියාකාරකම

තමන්ට සම්බන්ධ උත්සව අවස්ථාවක් තෝරාගෙන එහි ඇති චාරිත්‍ර වාරිත්‍ර පිළිබඳ තොරතුරු පන්තියට ඉදිරිපත් කරන්න.

### ස්වභාව ධර්මයෙන් හා බාහිර ආභාසයෙන් ඇති වූ දැනුම හා පුරුදු

දිගු ඉතිහාසයක් ඇති රටක් වශයෙන් අතීත මිනිස් අද්දැකීම් ඇසුරෙන් උරුම වූ සාම්ප්‍රදායික දැනුම් සම්භාරයක් අප සතුව පවතී. කෘෂිකාර්මික ක්ෂේත්‍රයේ දී වැව් තැනවීම, සොරොව්ව සැකසීම, ඇළ මාර්ග තැනීම, භෝග වැපිරීම, වගාව රැක බලා ගැනීම, අස්වනු නෙළීම ආදිය අතීතයේ සාම්ප්‍රදායික දැනුම වශයෙන් පැවතුණි. වගාවට වැලඳෙන ලෙඩ රෝග, ඒවාට යෙදිය යුතු පිළියම්, කෙම් ක්‍රම වැනි දේ ද එසේ පරපුරෙන් පරපුරට

පැවති සාම්ප්‍රදායික දැනුමට උදහරණ වේ. සාම්ප්‍රදායික වෛද්‍ය ක්‍රම, වඩු කර්මාන්තය, මැණික් කර්මාන්තය ආදි බොහෝ ශිල්ප ක්‍රමවල මෙබඳු සාම්ප්‍රදායික දැනුමක් පවතී. ඒවා ද ජාතියක් සතු අස්පෘශ්‍ය උරුමයේ කොටසකි.

## සාම්ප්‍රදායික කලා ශිල්ප

මෙරට සාම්ප්‍රදායික කලා ශිල්ප දෙස බලන විට අතීතයේ සිට පැමිණි දැනුම වර්තමානයේ පවා ඒ ඒ කලා ශිල්ප වෙනුවෙන් යොදා ගන්නා බව පෙනේ. කැටයම් කලාව, බිතු සිතුවම් කලාව, පැදුරු විවීම, පිත්තල භාණ්ඩ තැනීම හා ඔප දැමීම, වෙස් මුහුණු හා රූකඩ කලාව, ලාක්ෂා කලාව ආදිය එයට උදහරණ වශයෙන් දැක්විය හැකි ය.

## අපේ සංස්කෘතික උරුමය ආරක්ෂා කිරීම

කුඩා රටක් වුව ද ඉපැරණි ඉතිහාසයක් හා සංස්කෘතික උරුම රැසක් අප රට සතු බව මෙම පාඩමේ දී ඔබට වැටහෙන්නට ඇත. ස්පෘශ්‍ය හා අස්පෘශ්‍ය වශයෙන් වෙන් කර ඇති මෙම සංස්කෘතික උරුමය පරම්පරාවෙන් පරම්පරාවට රැක ගනිමින් පැමිණි වර්තමාන සමාජයට උරුම වී තිබේ.



රූපය 3.19 පැදුරු විවීම



රූපය 3.20 පන් කොළවලින් සකස් කළ අත් බෑග් හා පසුම්බි



රූපය 3.21 පිත්තල කැටයම් කලාව



රූපය 3.22

## වෙස් මුහුණු හා රූකඩ කලාව

විවිධ ශාන්තිකර්ම හා බලි තොවිල් උදෙසා වෙස් මුහුණු නිර්මාණය කෙරිණ. මෙහි දී යක්ෂ හා දේව රූප බොහෝ විට වෙස් මුහුණු සඳහා යොදා ගැනේ. සංත්‍රාසය හා තේජස වැනි හැඟීම් ජනිත කිරීමට වෙස් මුහුණු යොදා ගෙන ඇත. අම්බලංගොඩ හා උඩුපිල වැනි ශ්‍රී ලංකාවේ දකුණු ප්‍රදේශයට අයත් ගම්මාන වෙස් මුහුණු නිර්මාණය සඳහා ප්‍රසිද්ධියට පත්ව තිබේ.

## ලාක්ෂා චිත්‍ර කලාව



රූපය 3.23

කන්ද උඩරට ප්‍රදේශය මේ කර්මාන්තයට වඩාත් ප්‍රසිද්ධ ය. කැප්පෙට්ටියා ශාඛයේ වසන ලාක්ෂා කෘමියාගේ ශ්‍රාවයකින් මෙම කර්මාන්තය සඳහා වූ අමුද්‍රව්‍ය සකසා ගැනේ. හැරමිටි, බස්තම්, දුව හෙප්පු, බඳුන්, ගෘහ භාණ්ඩ, වටාපත් මිටි, සේසත් හා පුස්කොළ පොත් ආදියේ පිටත අලංකරණය සඳහා ලාක්ෂා කර්මාන්තය යොදා ගැනිණ.

## අපේ සංස්කෘතික උරුමය රැක ගැනීමේ වටිනාකම

රළු කළු ගලකින් වුව ද දුටුවන්ගේ නෙත් සිත් පිනවන ඉතා උසස් කලාත්මක නිර්මාණ මතු කර ගැනීමට අපේ අතීත මුතුන් මිත්තෝ සමත් වූහ. නිර්මාණශීලීත්වය හා ඒ පිළිබඳව වූ දැනුම, රට, දැය, ආගම පිළිබඳව ඔවුන් තුළ තිබූ යහපත් ආකල්ප හා ඔවුන්ගේ එම අද්දැකීම් මෙම උරුමයන් සමඟ බැඳී පවතින බැවින් අනාගත පරපුරට ද ඒවා ලබා ගැනීම සඳහා  අපේ උරුමයන් රැක ගත යුතු ය.

ලෝකයේ පවතින විවිධ රටවලට ඒ රටවලට ආවේණික වූ සංස්කෘතීන් ඇත. එම විවිධ සංස්කෘතීන් අතර ශ්‍රී ලාංකික සංස්කෘතිය ලොව හමුවේ දැක්වීමට හා අපේ අභිමානය පෙන්වීමට අපේ සංස්කෘතික උරුමය ආරක්ෂා කර ගැනීම වැදගත් වේ. අපේ සංස්කෘතියෙන් ලෝක උරුම බවට පත් වූ ස්ථාන හයක් පිළිබඳ ඔබ මීට පෙර දී ඉගෙන ගන්නට ඇත. එසේ ලෝක උරුම බිහි වීමෙන් අපේ ජාතික උරුම පිළිබඳ ලොව ම දැනුම්වත් වෙයි. එය අපගේ සංචාරක කර්මාන්තයේ දියුණුවට ද හේතු වේ.

අපේ පැරණි මුතුන් මිත්තන්ගේ නිර්මාණශීලීත්වය, කලාත්මක හැකියා, දක්ෂ ඉංජිනේරු ශිල්පය, තාක්ෂණය පිළිබඳ දැන ගැනීමෙන් අපේ රට පිළිබඳ අභිමානයක්, ඇල්මක් ඇති වේ.

අපේ ප්‍රධාන ආහාරය වන බත් සඳහා අවශ්‍ය 'වී' තවමත් වගා කරන්නේ අතීත මුතුන් මිත්තන් උරුම කර දුන් වැව් අමුණු පද්ධතිය ඇසුරෙනි.

අතීත උරුමය වර්තමාන සමාජයේ පැවැත්මට උපකාරී වී ඇති අයුරු එයින් ද පැහැදිලි වේ.

සංස්කෘතික උරුමයන් ද එසේ ය. අතීතයෙන් උරුම වූ යහපත් සිරිත් විරිත් හා පුරුදු වර්තමාන සමාජයේ පැවැත්මට අවශ්‍ය වේ. මේ සියලු සංස්කෘතිකාංග අපට උරුම වූයේ පැරණි මුතුන් මිත්තන් ඒවා ආරක්ෂා කොට අපට දායාද කළ බැවිනි. එබැවින් ඒවා ආරක්ෂා කොට අනාගත පරපුර වෙනුවෙන් රැක ගැනීම අපේ වගකීමකි.

### ක්‍රියාකාරකම

අපේ සංස්කෘතික උරුමය රැකගනිමු, යන මාතෘකාව යටතේ රචනාවක් ලියන්න.

### සාරාංශය

- ශ්‍රී ලංකාව සංස්කෘතික උරුම බොහොමයකට උරුමකම් කියන රටකි.
- සංස්කෘතික උරුමය ස්පෘශ්‍ය හා අස්පෘශ්‍ය ලෙස කොටස් දෙකකින් යුක්ත වේ.
- ශ්‍රී ලංකාවෙන් ලෝක උරුම හයක් දායාද කර ඇත.
- ශ්‍රී ලාංකික අනන්‍යතාව ලෝකය හමුවේ පෙන්වීමටත් අපේකම රැක ගැනීමටත් අපේ උරුමය අප ආරක්ෂා කළ යුතු ය.

# 4 පසුකාලීන පාලන මධ්‍යස්ථාන

**හැඳින්වීම**

අනුරාධපුර රාජධානිය වසර 1500ක පමණ ද පොළොන්නරු රාජධානිය වසර 150ක පමණ ද කාල පරිච්ඡේදයක් පැවතුණු බව ඔබ මීට පෙර ඉගෙන ගෙන ඇත. මෙසේ අනුරාධපුර හා පොළොන්නරු රාජධානි පැවති අවධි රජරට ශිෂ්ටාචාරය ලෙස හැඳින්වේ. ක්‍රි. ව. 1215 දී පොළොන්නරු රාජධානිය බිඳ වැටීමේ සිට ක්‍රි. ව 1415 දී කෝට්ටේ රාජධානිය ආරම්භ වන තෙක් වූ වසර 200ක කාලය තුළ රාජ්‍ය මධ්‍යස්ථාන පහක් පැවතුණි. මෙසේ රාජ්‍ය මධ්‍යස්ථාන හෙවත් අගනගර වෙනස් වීමට බලපෑ හේතු, ඒ ඒ රාජධානිවල සිටි ශ්‍රේෂ්ඨ පාලකයන්, මේ කාලවල දී රටේ ප්‍රගතියට හේතු වූ කරුණු, දේශපාලන ආර්ථික ජයග්‍රහණ ආදිය පිළිබඳ මෙම පාඩමේ දී ඔබට ඉගෙනීමට ලැබෙනු ඇත.

පළමුවන විජයබාහු, මහා පරාක්‍රමබාහු වැනි ශ්‍රේෂ්ඨ රජවරුන්ගේ පාලන මධ්‍යස්ථානය වූ පොළොන්නරුව නිශ්ශංකමල්ල රජතුමාගෙන් අනතුරුව පරිහානියට පත් වීමට කරුණු සැලසුණි. නිශ්ශංකමල්ල රජුට පසුව එහි දුර්වල පාලකයන් බලයට පත් වූ අතර ඒ කිසිවෙකුට හෝ දේශපාලන ස්ථාවරත්වයක් ගොඩනැගීමට හැකියාව නො ලැබුණි. මෙසේ රාජධානිය දුර්වල වෙමින් පවතින විට ඉන්දියාවේ කාලිංග දේශයේ සිට පැමිණි මාඝ නම් ආක්‍රමණිකයෙක් විශාල හමුදවක් සමග ලංකාවට ගොඩබැස්සේ ය. 1215 වර්ෂයේ දී සිදු වූ මාඝගේ ආක්‍රමණයට මුහුණ දීමට එවකට පොලොන්නරුවේ පාලකයාව සිටි පරාක්‍රම පාණ්ඩ්‍ය රජුට නොහැකි විය. මේ නිසා ආක්‍රමණිකයෝ රජරට අල්ලා ගත්හ.

මාඝගේ හමුදව පොළොන්නරුව අල්ලාගෙන සිටියදී විවිධ ආරක්ෂිත ස්ථානවල බලකොටු තනාගෙන ආක්‍රමණිකයාට දකුණට ඒමට ඉඩ නොදී රටත් ජනතාවත් ආරක්ෂා කළ නායකයන් කිහිප දෙනෙකු ගැන මහාවංසයේ සඳහන් වේ.

- ❖ මිණිපේ ගංදෙණිය පර්වතයේ බලකොටුවක් පිහිටුවාගෙන සිටි සංඛ සෙනෙවි
- ❖ යාපහුව කඳු මුදුනෙහි බලකොටුවක් තනාගෙන සිටි සුභ සෙනෙවි
- ❖ රුහුණේ ගෝවින්ද මලය කඳු මුදුනේ බලකොටුවක් තනාගෙන සිටි බුවනෙකබාහු ආදිපාදතුමා

ආදීහු, මෙලෙස සතුරු හමුදවල ගමන් මග වැලැක්වූ නායකයෝ ය. මොවුන්ගේ ක්‍රියාවලිය නිසා 4.1 සිතියමේ පෙනෙන ආකාරයට දකුණට ආක්‍රමණිකයන් පැමිණීම වැලකුණු ආකාරය ඔබට වැටහෙනු ඇත.

මෙම නායකයන් මාඝගේ හමුදව දකුණට පැමිණීම වැලැක්වීමට සමත් වුවත් ශක්තිමත් රාජධානියක් බිහි කිරීමට කටයුතු කළ බවක් නො පෙනේ. එම අභියෝගය ජය ගැනීමට ක්‍රියා කළේ වන්නි නායකයෙකු ලෙස ප්‍රසිද්ධව සිටි තුන්වන විජයබාහු රජතුමා ය. එතුමා දඹදෙණි රාජධානිය පිහිටුවිය. දඹදෙණි රාජ්‍ය පිහිටුවීමෙන් පසුව කෝට්ටේ රාජ්‍ය ඇරඹෙන තෙක් රාජ්‍ය මධ්‍යස්ථාන කිහිපයක් පැවතුණි.

මෙසේ වරින් වර රාජධානි බිහි වීමට හේතු කිහිපයක් බලපා තිබේ.

1. ආරක්ෂක හේතු
2. ආර්ථික හේතු




සිතියම 4.1 ශ්‍රී ලංකාවේ පැරණි ප්‍රදේශ බෙදීම්

පොළොන්නරු රාජ්‍ය බිඳවැටීමෙන් පසුව ගත වූ වසර 200ක කාලයේ දී අලුත් රජ පෙළපත් කිහිපයක් බලයට පත් විය. එක් එක් කාලවල මේ රාජ්‍ය උරුමකරුවන් අතර පැවති ගැටුම් වැනි අභ්‍යන්තර හේතු මෙන් ම විදේශ රටවලින් එල්ල වූ ආක්‍රමණික තර්ජන




සිතියම 4.2 පොලොන්නරු රාජධානියෙන් පසුව පැවති රාජධානි කිහිපයක්

වැනි බාහිර හේතු ද නිසා අගනුවර ආරක්ෂා කර ගැනීම ප්‍රමුඛත්වයෙහි ලා සැලකී ය. මේ නිසා දඹදෙණියෙන් යාපහුවටත් ඉන් පසු කුරුණෑගලටත් පසුව ගම්පොළටත් වශයෙන් ආරක්ෂාව පතා විටින් විට වඩාත් හිතකර ස්ථානවලට අගනුවර මාරු කෙරිණි.

මෙම කාලයේ දී ලෝකයේ සිදු වූ නව වෙළෙඳ ප්‍රවණතා අනුව ලංකාවේ විදේශ

වෙළෙඳ කටයුතුවල නවතාවක් ඇති විය. රජරට ශිෂ්ටාචාර සමයේ සාම්ප්‍රදායික වෙළෙඳාමට යොදා ගත් අලි, ඇතුන්, මුතු මැණික් ආදියට මෙන් ම මේ කාලයේ දී ලංකාවේ කුළුබඩුවලටත් සැලකිය යුතු ඉල්ලුමක් ඇති විය. මේ නිසා කුළුබඩු බහුලව වැවුණු තෙත් කලාපය ආර්ථික කටයුතුවලට වඩාත් හිතකර විය. මෙබඳු බාහිර ආර්ථික හේතුවලට අමතරව කෘෂිකාර්මික හා වෙළෙඳ ක්ෂේත්‍රවල මුහුණ දුන් අභ්‍යන්තර ආර්ථික තත්ත්වයන් ද මේ සඳහා බලපා තිබේ. රජරට වාරි මාර්ග පද්ධතිය විනාශ වී කලක් එම ප්‍රදේශ අතහැර දැමීම නිසා නැවත ඒවා සංවර්ධනය කිරීම දුෂ්කර විය. තෙත් කලාපයට සුදුසු අන්දමින් කුඩා කුඹුරු වගාව, හෙල්මලු වගාව වැනි නව වගා ක්‍රමවලට ජනතාව හුරු විය. තණ හාල්, මෙනේරි වැනි කටුසර භෝග හා එළවළු, පළතුරු වගාව ද පැවතුණි. මෙබඳු ආරක්ෂක අවශ්‍යතා හා ආර්ථික හේතු නිසා රාජ්‍ය මධ්‍යස්ථානය තෙත් කලාපය ආශ්‍රිතව ගොඩනැගුණු බව පෙනේ.



රූපය 4.1 දඹදෙණි රජ මාලිගාවට පිවිසීමට ඇති පියගැටපෙළේ කොටසක් රජරට ශිෂ්ටාචාරයෙන් පසුව රාජධානි පිහිටුවා ගත්තේ මෙවැනි ආරක්ෂිත ස්ථානවල ය.

## දඹදෙණි රාජධානි සමය (ක්‍රි. ව. 1232-1272)

### තුන්වන විජයබාහු රජතුමා
(ක්‍රි. ව. 1232-1236)

ප්‍රදේශීය නායකයෙකු වූ තුන්වන විජයබාහු රජතුමා දඹදෙණිය අගනුවර කරගෙන රාජ්‍යත්වයට පත් විය. එවකට ශ්‍රී ලංකාවේ රුහුණු, පිහිටි, මායා වශයෙන් ප්‍රදේශීය බෙදීමක් පැවතුණි. මේ අතුරින් මායා රට එක්සේසත් කර ගැනීමට තුන්වන විජයබාහු රජතුමාට හැකි විය.

කාලිංග මාඝගේ ආක්‍රමණය සිදු වූ අවස්ථාවේ දී භික්ෂූන් වහන්සේලා දන්ත ධාතුව හා පාත්‍රා ධාතුව කොත්මලයට රැගෙන ගොස් ආරක්ෂා සහිත තැනක තැන්පත් කර තැබූහ. තුන්වන විජයබාහු රජතුමා මේ පූජනීය වස්තූන් දඹදෙණියට වැඩමවා කෑගල්ල දිස්ත්‍රික්කයේ බෙලිගල කඳු මුදුනේ දළදා මැඳුරක් ඉදි කර එහි තැන්පත් කළේ ය. එය, එතුමාගෙන් සිදු වූ විශිෂ්ට සේවයකි. ලංකාවේ රජකම ලබා ගැනීම සඳහා රජු, දළදා වහන්සේගේ හිමිකරුවා විය යුතු යැයි විශ්වාසයක් ජනතාව අතර තිබිණි. මේ නිසා තුන්වන විජයබාහු රජුට මහජන සහයෝගය ලැබුණු බව නිසැක ය.

### ❖ දෙවන පරාක්‍රමබාහු රජතුමා
(ක්‍රි. ව. 1236 - 1270)

තුන්වන විජයබාහු රජතුමාගෙන් පසුව එතුමාගේ වැඩිමහල් පුත් දෙවන පරාක්‍රමබාහු කුමරා රජු බවට පත් විය.



රූපය 4.2 බෙලිගල විහාරස්ථානය

එතුමා නැවත වරක් ලංකාව එක්සේසත් කොට සාමකාමී රටක් බිහි කළේ ය. ඒ සඳහා අභියෝග රැසක් ජය ගැනීමට දෙවන පරාක්‍රමබාහු රජුට සිදු විය. සතුරන්ගෙන් රට නිදහස් කර ගැනීම ඒ අතර ප්‍රධාන වේ. එහි දී සටන් තුනක් කිරීමට රජුට සිදු විය.

1. කාලිංග මාඝ පලවා හැරීම.
2. චන්ද්‍රභානු රජුගේ පළමුවන ආක්‍රමණය පරාජය කිරීම.
3. චන්ද්‍රභානු රජුගේ දෙවන ආක්‍රමණය පරාජය කිරීම.

## කාලිංග මාඝ පරාජය කිරීම

ක්‍රි. ව. 1215 සිට වසර 40ක් පමණ කාලයක් මාඝ මෙරට රැඳී සිටියේ ය. මාඝගේ හමුදා පරාජයට පත් කොට රජරට යළි අත්පත් කර ගැනීම සඳහා විශාල සටනක් කිරීමට දෙවන පරාක්‍රමබාහු රජුට සිදු විය. අවසානයේ දී පොළොන්නරු නගරය වටලා රජු එල්ල කළ ප්‍රහාරයකින් මාඝගේ හමුදාව පරාජයට පත් විය.

## චන්ද්‍රභානුගේ ආක්‍රමණ

චන්ද්‍රභානු යනු අග්නිදිග ආසියාවේ මලය අර්ධද්වීපයේ සිට ලංකාවට පැමිණි ආක්‍රමණිකයෙකි. හෙතෙම දෙවරක් ලංකාව ආක්‍රමණය කළේ ය.

මෙම අවස්ථා දෙකේ දී ම චන්ද්‍රභානු පරාජය කිරීමට දෙවන පරාක්‍රමබාහු රජතුමා සමත් විය.

## දෙවන පරාක්‍රමබාහු රජුගෙන් සිදු වූ සේවාවන්

- ★ තම පිය රජතුමා බෙලිගල තැන්පත් කර තිබූ දළදාව දෙවන පරාක්‍රමබාහු රජතුමා දඹදෙණියට වැඩම කරවීම.
- ★ දඹදෙණියේ නව දළදා මැඳුරක් තැනවීම.
- ★ දේවපතිරාජ ඇමතිවරයා ලවා රටේ සංවර්ධන වැඩ කටයුතු සිදු කරවීම.
- ★ ශ්‍රී පාදස්ථානයට යන මාර්ගය වැඩි දියුණු කරවීම.
- ★ උයන් තැනවීම, පාලම් සෑදවීම හා පොල් වැනි භෝග වගා කරවීම ආදි සංවර්ධන කටයුතු කරවීම.

## ශ්‍රේෂ්ඨ පඬිවරයෙකු වීම

දෙවන පරාක්‍රමබාහු රජතුමා සිංහල, පාලි, සංස්කෘත වැනි භාෂා හැදෑරූ විශිෂ්ට උගතෙකි. මේ නිසා "කලිකාල සාහිත්‍ය සර්වඥ පණ්ඩිත" යන උපාධි නාමයෙන් එතුමා පිදුම් ලැබී ය. **කව්සිළුමිණ** එතුමා රචනා කළ කෘතියකි.

පළමුවන බුවනෙකබාහු රජතුමාගෙන් රටට සිදු වූ වැදගත් සේවාවන් රැසක් අතුරින් කිහිපයක් මෙසේ ය.

- යාපහුවේ දළදා මැඳුරක් ඉදි කිරීම.
- බෞද්ධ පොත් පත් රචනා කරවීම.
- මිසරය (ඊජිප්තුව) සමග වෙළෙඳ සම්බන්ධතා පැවැත්වීම.



රූපය 4.3 යාපහුව

මිසරය සමග වෙළෙඳ සබඳතා පවත්වාගෙන යාමට පළමුවන බුවනෙකබාහු රජතුමා මිසරයේ කයිරෝ නගරයට දූත පිරිසක් යවා තිබේ. එම දූත පිරිස අත යැවූ ලිපියක සැපයිය හැකි වෙළෙඳ ද්‍රව්‍ය ගැන සඳහන් කර තිබේ.

## යාපහුව රාජධානිය

දෙවන පරාක්‍රමබාහු රජතුමා ක්‍රි.ව. 1270 වර්ෂයේ දී පමණ මිය ගිය හෙයින් ඔහුගේ පුත් හතරවන විජයබාහු දඹදෙණියේ රජකමට පත් විය. වසර දෙකක් යන විට රජ වාසලේ ඇති වූ කුමන්ත්‍රණයකින් හතරවන විජයබාහු රජතුමා මිය ගියේ ය. අනතුරුව ඔහුගේ සහෝදරයා වූ පළමුවන බුවනෙකබාහු (ක්‍රි. ව. 1272-1284) රජකමට පත් වී වඩාත් ආරක්ෂා සහිත ස්ථානයක් වූ යාපහුව තම රාජ්‍ය මධ්‍යස්ථානය ලෙස තෝරා ගත්තේ ය.

## කුරුණෑගල යුගය

පළමුවන බුවනෙකබාහු රජුගෙන් පසුව එතුමාගේ පුතා, දෙවන බුවනෙකබාහු නමින් රජ විය. හෙතෙම කුරුණෑගල තම රාජධානිය බවට පත් කර ගත්තේ ය.

දෙවන බුවනෙකබාහු රජුගෙන් අනතුරුව බලයට පත් ඔහුගේ පුත් හතරවන පරාක්‍රමබාහු රජතුමා කුරුණෑගල යුගයේ සිටි ශ්‍රේෂ්ඨ පාලකයෙක් වේ.

කුරුණෑගල යුගයේ සිදු වූ සේවාවන්:

- ➢ පාලි භාෂාවෙන් ලියා තිබූ පන්සිය පනස් ජාතක පොත සිංහලයට පරිවර්තනය කිරීම.

- ➢ දළදා සිරිත, සිංහල බෝධි වංසය, අනාගත වංශය වැනි සාහිත්‍ය කෘති රචනා වීම.



රූපය 4.4 ලංකාතිලක විහාරය

## ගම්පොළ යුගය

කුරුණෑගල රාජධානියෙන් පසුව හතරවන බුවනෙකබාහු රජු යටතේ ගම්පොළ රාජධානිය ආරම්භ විය. ගම්පොළ යුගය වන විට ආර්ය චක්‍රවර්තී රජ පරපුර යටතේ යාපනයේ රාජධානියක් පැවති අතර අලකේශ්වර පරපුර යටතේ රයිගම පැවතිණි. හතරවන බුවනෙකබාහු රජුගෙන් පසුව පස්වන බුවනෙකබාහු ගම්පොළ රජකමට පත් විය. ගම්පොළ රාජධානි සමයේ සිදු වූ වැදගත් කරුණු කිහිපයක් මෙසේ ය.



රූපය 4.5 ගඩලාදෙණි විහාරය

- ✯ රජුට අමතරව නිශ්ශංක අලකේශ්වර හා සේනාලංකාධිකාර යනුවෙන් බලවතුන් දෙදෙනෙකු සිටීම.
- ✯ නිශ්ශංක අලකේශ්වර ඇමතිවරයා කෝට්ටේ බලකොටුවක් තනවා ආර්ය චක්‍රවර්තීන්ගේ හමුදාව පරාජය කිරීම.
- ✯ ඉබන් බතුතා නම් අරාබි ජාතික සංචාරකයා ලංකාවට පැමිණීම.
- ✯ ගම්පොළ යුගය අවසානයේ චීනයේ චෙං-හෝ සෙනෙවියා ලංකාව ආක්‍රමණය කිරීම.
- ✯ ගඩලාදෙණි විහාරය, ලංකාතිලක විහාරය හා ඇම්බැක්කේ දේවාලය ඉදි කිරීම.

## කෝට්ටේ යුගය

ගම්පොළ රාජධානිය පිරිහීමෙන් පසුව හයවන පරාක්‍රමබාහු රජතුමා යටතේ කෝට්ටේ රාජධානිය ආරම්භ විය. එතුමාගේ පියා ජයමහලේ නැමැත්තෙකි. මව සුනේත්‍රා දේවිය වූවා ය. එතුමා වන්නි ප්‍රදේශය හා යාපනය යටත් කොට රට එක්සේසත් කළේ ය.

යාපන ප්‍රදේශය යටත් කර ගැනීම සඳහා හයවන පරාක්‍රමබාහු රජතුමා විසින් සපුමල් කුමරු එහි යවන ලදි. සපුමල් කුමරු සටන් කර යාපනය අල්ලා ගත්තේ ය. උඩරට ප්‍රදේශීය පාලකයා වූ ජෝතිය සිටාණෝ රජුට විරුද්ධව උඩරට ප්‍රදේශයේ කැරැල්ලක් ඇති කළහ. රජතුමා අම්බුලුගල කුමාරයා යවා එම කැරැල්ල මර්දනය කළේ ය.



රූපය 4.6 කැරගල පද්මාවතී පිරිවෙන

කෝට්ටේ යුගයේ දී සිදු වූ වැදගත් සිදුවීම් කිහිපයක් පහත පරිදි ය.

1. හයවන පරාක්‍රමබාහු රජු යටතේ නැවතත් එක්සත් හා සාමකාමී පාලනයක් ලංකාවේ ඇතිවීම.

2. රටේ අධ්‍යාපන ප්‍රබෝධයක් ඇතිවීම හා ප්‍රධාන පිරිවෙන් කිහිපයක් ආරම්භ වීම. පැපිලියානේ සුනේත්‍රා දේවි පිරිවෙන, කැරගල පද්මාවතී පිරිවෙන ඊට උදහරණ වේ.

3. උගත් පඬිවරුන් පිරිසක් බිහි වීම. වීදගම මෛත්‍රී හිමි, තොටගමුවේ ශ්‍රී රාහුල හිමි මේ අතරින් කැපී පෙනේ.

4. විශිෂ්ට සාහිත්‍ය කෘති රැසක් ලියවීම, සැළලිහිණි, හංස, ගිරා යන සංදේශ, පැරකුම්බා සිරිත, කාව්‍යශේඛරය එබඳු සාහිත්‍ය කෘති වේ.

## යාපනය රාජධානිය

පොළොන්නරු රාජධානිය බිඳ වැටීමෙන් පසු යාපනය මුල් කර ගෙන ප්‍රදේශීය රාජ්‍යයක් බිහි විය. "යාල්පාන වෛපවමාලෛ" හා "ශේගරාසසේකරමාලෛ" යන ග්‍රන්ථ මේ රාජ්‍ය ගැන තොරතුරු සපයන මූලාශ්‍රයන් වේ. යාපනය රජ පරම්පරාව ආර්ය චක්‍රවර්තී පරපුර ලෙස හැඳින්වේ. එම රජ පරම්පරාවේ



රූපය 4.7 නල්ලූර් කෝවිල

ආරම්භකයා විජය කුලංගෙ ආර්ය චක්‍රවර්තී වේ. මෙබඳු පාලකයන් 12 දෙනෙකු සිටි බවට තොරතුරු තිබේ. ගම්පොළ යුගයේ දී හා කෝට්ටේ යුගයේ දී යාපනය රාජ්‍ය ප්‍රධාන රාජධානියට යටත් කෙරුණි. එහෙත් පසුව යාපනයේ රජවරු යළි තම බලය පිහිටුවා ගත්හ. පෘතුගීසීන් පැමිණෙන විට යාපනය පාලනය කරන ලද්දේ සංකිලි රජු විසිනි. 1619 වර්ෂයේ දී පෘතුගීසීහු යාපනය ආක්‍රමණය කොට තම ආධිපත්‍යයට යටත් කළහ.

## සාරාංශය

- ☆ රජරට ශිෂ්ටාචාර සමයෙන් පසුව ආරක්ෂාව හා ආර්ථික හේතු මත මෙරට රාජධානි කෙටි කාලයක් අතරතුර තැනින් තැනට මාරු විය.
- ☆ දේශපාලන ස්ථාවරත්වයක් පැවති අවධිවල ආර්ථික දියුණුවක් පැවතුණි. එම කාලවල ආධ්‍යාපනික හා ආගමික අංශවල ද උන්නතියක් ඇති විය.
- ☆ බලය ලබා ගැනීම සඳහා අභ්‍යන්තර සහ බාහිර අරගල ඇතිවීම මෙම කාලයේ සිදු විය.
- ☆ දේශීය පාලකයෙකු විසින් අවසන් වරට දිවයින එක්සේසත් කරනු ලැබුවේ කෝට්ටේ පාලන සමයේ දී ය.

**ක්‍රියාකාරකම**

**දී ඇති රුකුල් පද ඇසුරින් පහත ප්‍රහේලිකාව සම්පූර්ණ කරන්න.**



**පහළට**

1. කන්ද යන අරුත් දේ.
2. කෘෂිකර්මය සඳහා අත්‍යවශ්‍ය දෙයකි.
3. කුරුණෑගල හඳුන්වන තවත් නමකි.
5. දකුණු ඉන්දියානු රජ පෙළපතකි.
6. උතුරේ පිහිටි ප්‍රධාන පාලන මධ්‍යස්ථානය
8. ලී කැටයම් සඳහා ප්‍රසිද්ධ දේවාලයකි
9. ශ්‍රී ලංකාව සමග වෙළෙඳ සබඳතා පැවැත්වූ රටකි
12. රුහුණු, පිහිටි, මායා පාලන ප්‍රදේශ හැඳින්වූයේ මෙනමිනි.
14. ශ්‍රී ලංකාවේ පිහිටි ප්‍රදේශීය බල මධ්‍යස්ථානයකි
15. රජරට ප්‍රදේශය ආක්‍රමණය කළ දකුණු ඉන්දියානු රාජ්‍යයකි.

**හරහට**

4. ගම්පොළ යුගයට අයත් විහාරයකි.
7. කුරුණෑගල රාජධානියට පසු බිහි වූ රාජධානිය.
10. ජෝතිය සිටාණන්ගේ කැරැල්ල මැඩපැවැත්වූයේ මොහු විසිනි.
11. නගරය යන අරුත දේ.
13. ශ්‍රී ලංකාවේ පැරණි ප්‍රදේශ බෙදීමකි.
16. පළමුවන බුවනෙකබාහු රජතුමාගේ පාලන මධ්‍යස්ථානය යි.
17. පන්සිය පනස් ජාතක පොත සිංහලට පරිවර්තනය කළේ මෙම යුගයේ ය.

# 5 යුරෝපයේ පැරණි ශිෂ්ටාචාර

## හැඳින්වීම

ලෝකයේ පැවති පැරණි ශිෂ්ටාචාර පිළිබඳ 6 ශ්‍රේණියේ දී ඉගෙන ගත් බව ඔබට මතක ඇත. එම ශිෂ්ටාචාරවල වැඩි තොරතුරු ප්‍රමාණයක් මෑත කාලයේ පුරාවිද්‍යා කැණීම් මගින් සොයා ගත් ඒවා වේ. මෙහි දී අවධානය යොමු කරන ග්‍රීකය හා රෝම ශිෂ්ටාචාර එසේ කාලයක් සාහිත්‍ය ලෝකයෙන් ඈත්ව තිබූ ඒවා නො වේ. ග්‍රීක, රෝම ශිෂ්ටාචාර මගින් නූතන යුරෝපා ශිෂ්ටාචාරය පෝෂණය ලැබීම කැපී පෙනෙන ලක්ෂණයකි. පැරණි ග්‍රීක හා රෝම ශිෂ්ටාචාරවල කැපී පෙනෙන ලක්ෂණ පිළිබඳ මෙම පාඩමෙන් අවධානය යොමු කෙරේ.

## ග්‍රීක ශිෂ්ටාචාරය

### පිහිටීම

බටහිරින් අයෝනියානු මුහුදටත් නැගෙනහිරින් ඊජියන් මුහුදටත් මැදිව මධ්‍යධරණී මුහුදට නෙරා පිහිටි අර්ධද්වීපය සහ ඊට දකුණින් ඇති ක්‍රීට දූපත ඇතුළු දූපත් සමූහය මුල් කරගෙන ග්‍රීක ශිෂ්ටාචාරය බිහි විය. මෙම ශිෂ්ටාචාරයට අයත් දූපත් අතරින් විශාල ම දූපත ක්‍රීට දිවයින වේ.

ග්‍රීසිය කඳුවලින් පිරි රටකි. ඒ අතරින් අලංකාර ඔලිම්පස් කන්ද වඩාත් ප්‍රසිද්ධියට පත්ව ඇත. මෙම කඳු වැටි අතුරින් ගලා බස්නා ජල මාර්ග නිසා කෘෂිකර්මාන්තයට යෝග්‍ය පරිසරයක් පැවතුණි. එහි පැවති සෞම්‍ය දේශගුණය සත්ත්ව පාලනයට මෙන් ම ජන ජීවිතයට ද හිතකර විය.




සිතියම 5.1 ග්‍රීක ශිෂ්ටාචාරය

කඩතොලු වූ වෙරළ ආශ්‍රිතව ස්වාභාවික වරායන් රැසක් පිහිටා තිබීම, පැරණි ග්‍රීසියේ විදේශ සම්බන්ධතාවලට මෙන් ම වෙළෙඳ කටයුතුවලට ද උපකාරි විය.

## ග්‍රීක ශිෂ්ටාචාරයේ ආරම්භය

ග්‍රීක ශිෂ්ටාචාරය ආරම්භ වීමට පෙර ක්‍රීට දිවයින මුල් කරගෙන පැරණි ශිෂ්ටාචාරයක් පැවතුණි. එය මිනෝවන් ශිෂ්ටාචාරය ලෙස හැඳින්වේ.

අවට ප්‍රදේශවලින් විවිධ ගෝත්‍ර හා ජන කණ්ඩායම් පැමිණීම නිසා මිනෝවන් ශිෂ්ටාචාරය පරිහානියට පත් විය. එම ගෝත්‍ර හා ජන කොටස් කුඩා ගම්මාන පිහිටුවා ගැනීමෙන් ක්‍රි. පූ. 2000 පමණ වන විට ග්‍රීක ශිෂ්ටාචාරය ඇරඹිණි.

## පාලනය

ඉහත සඳහන් කළ විවිධ ගෝත්‍ර හා ජන කොටස් පිහිටු වූ ගම් දියුණු වී නගර බිහි විය. මෙසේ දියුණු වූ නගර ආශ්‍රිත ව ක්‍රි. පූ. 700 පමණ වන විට නගර රාජ්‍ය රැසක් බිහි විය. ග්‍රීසියේ පැවති මෙම නගර රාජ්‍ය පෞර රාජ්‍ය, ලෙස හැඳින්වේ. පෞර හෙවත් පුර යනු නගරයට භාවිත කෙරෙන තවත් නමකි. එම පෞර රාජ්‍ය අතුරින් ඇතන්ස්, ස්පාටා ප්‍රධාන නගර රාජ්‍ය ලෙස සැලකේ.

මෙම පෞර රාජ්‍යවල කැපී පෙනෙන ලක්ෂණ කිහිපයක් දක්නට ලැබේ.

- භූමි ප්‍රදේශය කුඩා වීම.
- ජනගහනය සීමිත වීම.
- පුරවැසියන්ට පමණක් දේශපාලන අයිතිවාසිකම් ලැබීම.

පෞර රාජ්‍යවල විශේෂයෙන් ඇතන්ස් රාජ්‍යයේ පුරවැසියෝ එක තැනකට රැස්ව සාකච්ඡා කොට දේශපාලන තීරණ ගත්හ. මෙසේ පුරවැසියන් තමන් ම පාලන කටයුතුවලට සම්බන්ධ වීම ඍජු ප්‍රජාතන්ත්‍රවාදය ලෙස හැඳින්වේ. එමගින් නූතන ලෝකයේ පවතින පාර්ලිමේන්තු ප්‍රජාතන්ත්‍රවාදයට පදනම වැටුණි.

පෙරික්ලීස් නම් පාලකයාගේ කාලය ග්‍රීසියේ විශේෂයෙන් ඇතන්ස් රාජ්‍යයේ ස්වර්ණමය යුගය ලෙස හැඳින්වේ. ඔහු ඇතන්ස් නගර මධ්‍යයේ ඇති කුඩා කඳු ගැටයක ඇක්‍රොපොලිස් හෙවත් අග නගරය ඉදි කළේ ය.

පසු කලෙක ග්‍රීක පෞර රාජ්‍ය එකිනෙකා අබිබවා නැගී සිටීමට උත්සාහ කළේ ය. මේ අසමගියෙන් ප්‍රයෝජන ගත් මැසිඩෝනියාවේ පිලිප් රජු ග්‍රීසිය ආක්‍රමණය කළේ ය. ඔහුගේ හදිසි මරණින් පසු පිලිප් රජුගේ පුත් මහා ඇලෙක්සැන්ඩර් ග්‍රීසිය අල්ලාගෙන එහි රජ විය.

### ක්‍රියාකාරකම

ග්‍රීසියේ සිතියම පිටපත් කරගෙන එහි ඇතන්ස්, ස්පාටා, කොරින්ත් යන නගරත් ක්‍රීට දිවයින, අයෝනියානු මුහුද, ඊජියන් මුහුද හා ඔලිම්පියා කන්ද ලකුණු කර නම් කරන්න.




රූපය 5.1 ග්‍රීකවරුන් නිපදවූ අලංකාර මැටි බඳුන්

## ආර්ථිකය

පැරණි ග්‍රීක ජන ජීවිතය, ගොවිතැන, සත්ව පාලනය හා වෙළෙඳාම මත පදනම්ව තිබුණි.

### ගොවිතැන

- තිරිඟු, බාර්ලි වැනි ධාන්‍ය හා මිදි ඔලිව් ආදිය ප්‍රධාන වගාවන් විය.



රූපය 5.2 ඔලිව් ගසක්

### සත්ත්ව පාලනය

- ගවයන්, එළුවන්, බැටළුවන් වැනි සතුන් ඇති කරනු ලැබිණි.

### වෙළෙඳාම

- ඉන්දියාව, චීනය, ශ්‍රී ලංකාව වැනි අසියාතික රටවල් සමග ද වෙළෙඳ සම්බන්ධතා පැවැත්වී ය.
- ග්‍රීකවරුන් ශ්‍රී ලංකාව හැඳින්වූයේ තැප්‍රොබේන් යන නමිනි.
- සුවඳ විලවුන්, අලංකාර මැටි බඳුන්, ලිනන් රෙදි, වයින් ආදිය ග්‍රීකවරුන්ගේ වෙළෙඳ භාණ්ඩ විය.

## ජන ජීවිතය

පැරණි ග්‍රීක ජන සමාජය ප්‍රභූන්, සාමාන්‍ය වැසියන් හා වහලුන් යන පුද්ගල කොටස් තුනකින් සමන්විත විය. පවුල කුඩා ම ඒකකය විය. ඔවුහු සරල පැවැත්මකට හුරුව සිටියහ.

### ආහාර පාන

- එළවළු, මස්, මාළු, බාර්ලි, වයින් ආහාරපාන ලෙස භාවිත විය.




රූපය 5.3 ග්‍රීසියේ පැරණි නිවසක අනුරුවක්

## නිවාස

- ප්‍රභූ ජනයාට මහල් නිවාස පැවතුණි.
- මැද මිදුල වටා කාමර, කුස්සිය, ගබඩා කාමර ඉදි කර තිබුණි.
- සාමාන්‍ය ජනයා කුඩා නිවාසවල ජීවත් වූහ.



රූපය 5.4 පැරණි ග්‍රීක ජනයාගේ ඇඳුම් පැලඳුම්

**කලා කටයුතු**

**ගෘහ නිර්මාණ ශිල්පය**

✧ විශාල ගොඩනැගිලි හා ඉතා අලංකාර දේවස්ථාන තැනවීමට ග්‍රීකයෝ සමත් වූහ.

✧ දේවස්ථාන තැනවීමේ දී ඔප මට්ටම් කළ හුණුගල්, කිරිගරුඬ, වර්ණවත් පිඟන් ගඩොල් භාවිත කර ඇත.

✧ පාතිනන් දෙව්මැඳුර මෙයට හොඳ ම උදහරණය යි.



රූපය 5.5 පාතිනන් දෙව් මැඳුර

## මූර්ති හා ප්‍රතිමා

- මිනිස් සිරුරේ ස්වාභාවිකත්වය නිරූපණය වන ආකාරයෙන් මූර්ති හා ප්‍රතිමා තනවනු ලැබී ය.
- කවපෙත්ත විසි කරන්නාගේ ප්‍රතිමාව උදාහරණයකි.
- ප්‍රතිමා නිර්මාණයේ දී ඇත් දත් හා රන් වැනි දුර්ලභ ද්‍රව්‍ය පවා භාවිත කර ඇත. ඇතීනා දෙවඟනගේ ප්‍රතිමාව ඊට උදාහරණය යි.



රූපය 5.6 ඇතීනා දෙවඟන

## නාට්‍ය

සුඛාන්ත හා දුඃඛාන්ත යනුවෙන් නාට්‍ය වර්ග දෙකක් පැවතුණි. ඊස්කලස්, සෙපොක්ලීස්, යුරිපිඩීස් හා ඇරිස්ටොපනීස් එකල සිටි සුප්‍රසිද්ධ නාට්‍යකරුවන්ට උදාහරණ වේ.



රූපය 5.7 පැරණි එළිමහන් රංග පීඨයක්

**සාහිත්‍යය**

✧ සාහිත්‍ය පොත් පත් ලිවීමේ දී ග්‍රීක භාෂාව යොදු ගැනිණි.

✧ වීර කාව්‍ය හා ඉතිහාස කතා, උසස් සාහිත්‍ය නිර්මාණ වේ.



රූපය 5.8 හෝමර්

✧ හෝමර් කවියාගේ ඉලියඩ් සහ ඔඩිසි ග්‍රීක වීර කාව්‍යවලට උදාහරණ වේ.

✧ පැසිඩිඩීස්, හෙරඩෝටස්, ඇරිස්ටෝටල් හා තුසිඩිඩීස්, ග්‍රීසියේ සිටි විශිෂ්ට ඉතිහාසකරුවෝ වූහ.

**අධ්‍යාපනය හා දර්ශනය**

### අධ්‍යාපනය

විවිධ වෘත්තිකයන්, දර්ශනිකයන්, කලාකරුවන් බිහි කිරීමට සමත් දියුණු අධ්‍යාපනයක් එවක පැවතුණි. ප්ලේටෝගේ ඇකඩමි හා ඇරිස්ටෝටල්ගේ ලයිසියම් විශිෂ්ට අධ්‍යාපන ආයතන විය.

### දර්ශනය

සොක්‍රටීස්, ප්ලේටෝ, හා ඇරිස්ටෝටල් අග්‍රගණ්‍ය ග්‍රීක දාර්ශනිකයෝ වෙති.

ග්‍රීක ජාතිකයකු වන හිපොක්‍රටීස් බටහිර වෛද්‍ය විද්‍යාවේ පියා ලෙස සැලකේ. ආකිමිඩීස් උසස් ගණිතඥයකු හා විද්‍යාඥයකු ලෙස පිළිගැනේ.

### ආගම

- ✧ ග්‍රීසියේ දේව වන්දනාව වැඩි වශයෙන් දක ගත හැකි විය.
- ✧ ග්‍රීසියේ එක් එක් නගර රාජ්‍යවලට වෙන් වෙන් වූ දෙවිවරු සිටියහ.
- ✧ සියුස් දෙවියා ග්‍රීක දේව පරපුරේ ප්‍රධානියා ලෙස සැලකේ.
- ✧ සියුස්ගේ දියණියක ලෙස සැලකෙන ඇතීනා ග්‍රීසියේ වන්දනයට පාත්‍ර වූ ප්‍රධාන දෙවඟන යි. පාතීනන් දේවස්ථානය ඇය වෙනුවෙන් ඉදි කර ඇත.

### ක්‍රීඩාව

**ක්‍රීඩා වර්ග**

- ➤ දිවීම, මල්ලවපොර, බර ඉසිලීම, කවපෙත්ත විසි කිරීම ග්‍රීක ක්‍රීඩාවලට උදහරණ වේ.

ඔලිම්පික් ක්‍රීඩාවේ ආරම්භය ග්‍රීකවරුන්ගෙන් සිදු විය. අතීතයේ සියුස් දෙවියා සිහි කිරීමට සිවු වසරකට වරක් පැවති ඔලිම්පික් ක්‍රීඩාවට සෑම පෞර රාජ්‍යයක ම පුරවැසියෝ සහභාගි වූහ. ඔලිම්පික් ක්‍රීඩාව ග්‍රීකයන් අතර එකමුතුකම පිළිබිඹු කරන අවස්ථාවක් විය.

**ක්‍රියාකාරකම**

පහත දැක්වෙන මාතෘකා අනුව ග්‍රීක ශිෂ්ටාරය පිළිබඳ තොරතුරු සොයා පොතක් සකස් කරන්න.

ආරම්භය
ප්‍රධාන ලක්ෂණ
ලෝකයට උරුම වූ දයාද

**ග්‍රීක ශිෂ්ටාචාරයෙන් ලොවට උරුම වූ දයාද**

- ★ නූතන යුරෝපා ශිෂ්ටාචාරය ගොඩනැඟීමට අවශ්‍ය මූලික පදනම වැටුණේ ග්‍රීක ශිෂ්ටාචාරයෙනි.
- ★ යුරෝපයේ දේශපාලනය, සාහිත්‍ය, විද්‍යාව හා කලාව බිහි වීමට ග්‍රීක ශිෂ්ටාචාරයේ ප්‍රබල දයකත්වයක් හිමි විය.
- ★ ග්‍රීක දර්ශනිකයන්ගේ හා චින්තකයන්ගේ ඉගැන්වීම් නූතන යුරෝපා චින්තනය වර්ධනය වීමට උපකාරී විය.
- ★ නූතන ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමය ලොවට උරුම වූයේ ග්‍රීකයන්ගෙනි.
- ★ ඔලිම්පික් ක්‍රීඩාව ග්‍රීකයන්ගෙන් වර්තමාන ලොවට ලැබුණු දයාදයකි.



රූපය 5.9 කවපෙත්ත විසි කරන්නා

## 5.2 රෝම ශිෂ්ටාචාරය

### පිහිටීම

ඉතාලියේ රෝම නගරය මුල් කරගෙන රෝම ශිෂ්ටාචාරය බිහි විය. ඉතාලිය යනු මධ්‍යධරණී මුහුදට නෙරා ගිය අර්ධද්වීපයකි. නැගෙනහිරින් ආද්‍රියාතික් මුහුදෙන් ද බටහිරින් හා දකුණින් මධ්‍යධරණී මුහුදෙන් ද මෙම අර්ධද්වීපය වෙන්ව තිබේ. උතුරින් පිහිටි ඇල්ප්ස් කඳු වැටිය නිසා ඉතාලිය යුරෝපයේ සෙසු රටවලින් වෙන් වේ. ඉතාලි භූමියේ රට මැදින් දිගට විහිදී ගිය, කඳුවැටියක් වේ. එය ඇපිනයින් නමින් හැඳින්වේ. මෙම කඳු වැටියෙන් ඇරඹෙන ටයිබර් ගංගාව දිගේ රෝමයේ සිට නැව් ගමන් කළ හැකිවීම, එම නගරයේ අභිවෘද්ධියට හේතු විය.




සිතියම 5.2 රෝම ශිෂ්ටාචාරය

## ආරම්භය

රෝම ශිෂ්ටාචාරය ආරම්භ වීම පිළිබඳ මත කිහිපයක් තිබේ. යුරෝපයේ සිට ඉතාලියට පැමිණි ලතින්වරුන් රෝමය ගොඩනැගුවේ ය, යන්න එක් මතයකි. රොමියුලස් නැමැති වීරයෙකු විසින් රෝමය ගොඩනගන ලදැයි ජනප්‍රවාදයක් ද තිබේ. රෝමය අතීතයේ සිට වැදගත් වෙළෙඳ මධ්‍යස්ථානයක් වූ බැවින් වෙනත් පෙදෙස්වලින් පැමිණි ජනතාව එම ශිෂ්ටාචාරය ගොඩනැගුවේ යැයි අදහසක් ද තිබේ.

**රොමියුලස් රෝම නගරය තැනවීමේ ජනප්‍රවාදය**

රජ පවුලක ඇති වූ කුමන්ත්‍රණයක් නිසා රාජ උරුමකරුවන් දෙදෙනෙකු වූ, අලුත උපන් රොමියුලස් හා රීමස් නම් නිවුන් දරුවන් දෙදෙනෙකු දියේ ගිල්වා මැරීමට රජු විසින් අණ කරනු ලැබීය. එම කටයුත්ත පැවරූ සේවකයාට දරුවන් පිළිබඳ අනුකම්පාවක් ඇති වී ඔහු ලීවලින් සෑදූ තොටිල්ලක ඔවුන් පා කර හැරියේ ය. තම පැටවුන් මිය ගිය වෘක ධේනුවකට ගං ඉවුරේ දී මෙම දරු දෙදෙනා හමු වී තිබේ. වෘක ධේනුව විසින් දරුවන් තම ගුහාවට ගෙන ගොස් ඇති දැඩි කරන ලදි. පසුව මොවුන් ගොපල්ලෙකුට හමු වී ඔහු තම දරුවන් මෙන් මොවුන් රැක බලා ගත්තේ ය. තරුණයන් බවට පත් වූ ඔවුහු තමන්ගේ ම රාජධානියක් ආරම්භ කිරීමට තීරණය කළහ. ඒ අනුව දෙදෙනා නගර ඉදි කිරීම ආරම්භ කළහ. එහි දී රොමියුලස් ඉදි කළ නගරය රෝමය ලෙස නම් කරන ලදැයි ජනප්‍රවාදයේ සඳහන් වේ.

## පාලන ක්‍රමය

මුල් කාලයේ දී රෝමයේ ගෝත්‍ර හෝ පවුල් පදනම් කරගත් පාලනයක් පැවැතිණැයි සැලකේ. අනතුරුව රාජාණ්ඩු ක්‍රමයක් ඇති විය. කලක් ගත වන විට රාජාණ්ඩුක්‍රමය ද පරිහානියට පත් වී, ක්‍රි. පූ. 509 දී පමණ රෝමයේ සමූහාණ්ඩු පාලන ක්‍රමයක් ආරම්භ විය. එම ක්‍රමය යටතේ කොන්සල්වරුන් ලෙස හැඳින්වූ නිලධාරීන් දෙදෙනෙකුට පාලන බලතල ලැබුණි. ඔවුන්ගේ කටයුතුවලට සහාය වීමට සෙනෙට් සභාවක් ද පැවතුණි.

මෙසේ රෝමය දේශපාලන වශයෙන් ඉදිරියට පැමිණීමත් සමග සමස්ත ඉතාලි අර්ධද්වීපය ම රෝම පාලනයට යටත් කෙරුණි. ක්‍රි. පූ. 27 දී පමණ රෝම අධිරාජ්‍යය බිහි විය. ස්පාඤ්ඤය, එංගලන්තය, ප්‍රංශය හා මධ්‍යධරණී මුහුද අවට ප්‍රදේශ රෝම අධිරාජ්‍යයට අයත්ව තිබුණි.

**ක්‍රියාකාරකම**

රෝම ව්‍යාප්තිය දැක්වෙන සිතියමක ඉතාලි අර්ධද්වීපය, රෝම නගරය, ටයිබර් ගඟ, ඇල්ප්ස් හා ඇපිනයින් කඳු, මධ්‍යධරණී මුහුද, අද්‍රියාතික් මුහුද, පොම්පේ නගරය ලකුණු කරන්න.

## කීර්තිමත් රෝම පාලකයෝ

### ජුලියස් සීසර්

- ජුලියස් සීසර් යනු යුද්ධ කටයුතුවලට දක්ෂ රණශූරයෙකි.
- සීසර් යුක්තිගරුකව රෝම පාලනය මෙහෙයවා ඇත.

### ඔගස්ටස් සීසර්

- ඔක්ටේවියස් හෙවත් ඔගස්ටස් සිසර් පළමුවන රෝම අධිරාජයා විය
- ඔගස්ටස් සිසර්ගේ පාලන සමය රෝම ඉතිහාසයේ ස්වර්ණමය යුගය ලෙස සැලකේ.
- රෝමයේ වැදගත් පැරණි ස්මාරක වන කොලෝසියම් ගොඩනැගිල්ල, කැරකැල්ලා නම් මහා නාන තටාකය මෙතුමාගේ කාලයේ ඉදි වී ඇත.



රූපය 5.10 ඔගස්ටස් සීසර්

- ඔගස්ටස් සිසර්ගේ පාලන කාලයේ දී රෝම අධිරාජ්‍යයට අයත්ව පැවති ජෙරුසෙලම අසල බෙත්ලෙහෙමේ දී ජේසුතුමාගේ උත්පත්තිය සිදු වී තිබේ.



රූපය 5.11 මහා නාන තටාකය

## ජන ජීවිතය

රෝම පවුලක ප්‍රධානියා වූයේ පියා ය. ඔහු පවුලේ සියලු කටයුතු මෙහෙයවී ය. රෝම සමාජයේ කාන්තාවට ද විශාල බලයක් හිමි වූ අතර ඔවුන් සමාජයේ ඉහළ තනතුරු දරා ඇත. වෛද්‍ය වෘත්තිය වැනි උසස් වෘත්තීන්වල ද ඔවුන් නිරතව ඇත. මව පූජනීයත්වයෙන් සලකනු ලැබිණි.

## සමාජය

ප්‍රභූන්, සාමාන්‍ය ජනතාව හා වහලුන් වශයෙන් සමාජය කොටස් තුනකින් සමන්විත විය.

## නගර නිර්මාණය හා නිවාස

සැලසුම් සහගත නගර ඉදි කර තිබිණි. ප්‍රභූ ජනතාව නගරවල සුඛෝපභෝගී නිවාසවල ජීවත් වූහ. ඇතැම්විට මහල් නිවාස ද ඉදි කර තිබිණි.

ජල පහසුකම් හා සෞඛ්‍යාරක්ෂාව ගැන විශේෂ සැලකිල්ලක් දක්වා ඇත.

සෑම නගරයක් ම මාර්ග ජාලයකින් සම්බන්ධ කර තිබිණි. පාලම් තැනවීමේ ශිල්පය ගැන විශේෂ දැනුමක් රෝමවරුන් සතු විය.



රූපය 5.12

රෝමවරුන්, යටත් කළ රටවලින් මිනිසුන් විශාල සංඛ්‍යාවක් සිරකරුවන් ලෙස රෝමයට ගෙන ආ අතර මේ පිරිස් වහලුන් වශයෙන් ප්‍රසිද්ධ වෙළඳපොළේ දී විකුණනු ලැබිණි.



රූපය 5.13

රෝම ප්‍රභූවරු සමාජයේ ඉහළ ම කොටසට ඇතුළත් වූහ. ඔවුහු විසිතුරු මන්දිරවල ජීවත් වෙමින් සුඛෝපභෝගී ජීවිත ගත කළහ. එක් ධනවත් ප්‍රභූවරයෙකුගේ නිවෙසක සිය ගණනක් වහල්ලු ජීවත් වූහ.



රූපය 5.14 පැරණි රෝම පාලමක්

(දුර ප්‍රදේශවල සිට නගරවලට ජලය ගෙන යාමේ දී ද රෝමවරු මෙබඳු පාලම් යොදා ගත්හ)

## කලාව හා ගෘහ නිර්මාණ

ග්‍රීකවරු මෙන් ම රෝමවරු ද උසස් සාහිත්‍යකරුවෝ වූහ. උසස් ගද්‍ය පද්‍ය ග්‍රන්ථ රාශියක් රෝම ලේඛකයන් අතින් ලියවී ඇත. වර්ජිල් නම් කතුවරයාගේ ඊනිඩ් ඒවායින් එක් උසස් පද්‍ය ග්‍රන්ථයකි.

රෝමයේ ඉදි කර ඇති නාට්‍ය ශාලා, එළිමහන් රංග පීඨ එම වැසියන්ගේ කලාකාමී බව පෙන්වන නිදර්ශන වේ.

## මූර්ති හා ප්‍රතිමා

විශිෂ්ට මූර්ති ශිල්පයක් හා ප්‍රතිමා කලාවක් රෝමවරුන් සතු ව තිබුණි. නීරෝ අධිරාජයාගේ යැයි සැලකෙන ලෝකඩ හිස, රෝම මූර්ති කලාවේ ජීවමාන ස්වරූපයට අගනා නිදසුනකි.

## ගෘහ නිර්මාණ

රෝම කොලෝසියම 'රෝම නගරයේ' ඉදි කොට ඇති එළිමහන් ක්‍රීඩාපිටියකි. මෙහි පුද්ගලයන් 50,000කට එකවර රැස් විය හැකි ය. මෙය ලොව පුදුම හතෙන් එකක් ලෙස සැලකේ.

පැන්තියන් දේවස්ථානය රෝමානු ගෘහ නිර්මාණයේ විශිෂ්ටත්වය පිළිබිඹු කරන විශාල ඉදි කිරීමකි. රෝමානුවන් ඇදහූ සියලු දෙවිවරුන් සඳහා මෙය ඉදි කරනු ලැබ ඇත.

## රෝමානුවන්ගේ ක්‍රීඩා

- ☆ ග්‍රීකයන් මෙන් පෘථුල ලෙස ක්‍රීඩා කටයුතුවල යෙදුණු බවට සාධක විරල ය.
- ☆ රෝමානුවන් රථ ධාවන තරග පැවැත්වූ බවට ද සාධක හමුව තිබේ.



රූපය 5.15 රෝම කොලෝසියම

★ සිංහයන් වැනි සතුන් යොදා ගෙන පැවැත්වූ කෲර, බිහිසුණු සටන්වලට ඔවුහු කැමැත්තක් දැක්වූහ. මෙවැනි තරගවල දී, මිනිසුන් හා සතුන් සිය ගණනක් පමණ මිය ගොස් ඇති බව ඇසුව හොත් ඔබ පුදුම වනවා ඇත. මේවා සඳහා වහලුන් සහභාගි කරවා ගත් බව විශ්වාස කෙරේ.

## වෙළෙඳ සබඳතා

රෝමය බොහෝ ධනවත් නගරයක් වූ අතර එය පෙර අපර දෙදිග වෙළෙඳ මධ්‍යස්ථානයක් විය. මධ්‍යධරණී මුහුද අවට රටවල් මෙන් ම ඉන්දියාව, චීනය හා ලංකාව වැනි ආසියාතික රටවල් සමග ද රෝම වෙළෙඳාම පැවැතිණි. රෝම වෙළෙඳුන් ලංකාව ගැන යම් යම් කරුණු සඳහන් කර තිබේ. භාතිකාභය රජු රුවන්වැලිසෑයට පිදීම සඳහා රෝමයෙන් පබළු ගෙන්වූ බව මෙරට මූලාශ්‍රයවල සඳහන් වේ.

## රෝම ශිෂ්ටාචාරයෙන් ලොවට උරුම වූ දායාද

★ පාලම් තැනවීම, ජල නළ එළීම, මං මාවත් තැනීමේ තාක්ෂණය රෝමවරුන්ගෙන් යුරෝපා ශිෂ්ටාචාරයට ලැබුණු දායාදයකි.

★ කිතුනු දහම (රෝම ශිෂ්ටාචාරයේ පැතිරී පසුව ලොව පුරා ව්‍යාප්ත විය)

★ රෝම නීතිය

★ ලතින් භාෂාව

★ රෝම ගෘහ නිර්මාණ ශිල්පය

## සාරාංශය

- ක්‍රීට දිවයින මුල් කරගෙන ග්‍රීක ශිෂ්ටාචාරය බිහි වීම.
- ඇතන්ස්, ස්පාටා වැනි පෞර රාජ්‍ය පැවතීම.
- කලාත්මක, විද්‍යාත්මක හා දර්ශනික අංශයෙන් ග්‍රීකවරුන් උසස් තත්ත්වයට පත් ව සිටීම.
- වර්තමාන ලෝකයට පැරණි ග්‍රීක ශිෂ්ටාචාරයෙන් දයාද රැසක් උරුම වීම.
- ඉතාලියේ රෝම නගරය මුල් කරගෙන රෝම ශිෂ්ටාචාරය ආරම්භ වීම.
- මධ්‍යධරණී මුහුද අවට විශාල පෙදෙසක රෝම බලය පැතිරීම හා අධිරාජ්‍යයක් බිහි වීම.
- ග්‍රීකවරුන්ගෙන් පසුව යුරෝපයේ පැවැති දියුණු ම ශිෂ්ටාචාරය රෝමවරුන් යටතේ බිහිවීම.
- නූතන ලෝකයේ අභිවෘද්ධියට රෝම ශිෂ්ටාචාරයෙන් දායාද රැසක් ලැබීම.

## ක්‍රියාකාරකම

1. යුරෝපයේ සිතියමක් ආධාරයෙන් ඉතාලි අර්ධද්වීපය, රෝම නගරය, ටයිබර් ගඟ, ඇල්ප්ස් හා ඇපිනයින් කඳු, එංගලන්තය, ප්‍රංශය, ස්පාඤ්ඤය හඳුනාගන්න.

2. රෝමානුවන්ගේ කලාත්මක නිර්මාණ, ගෘහ නිර්මාණ, ඉංජිනේරු තාක්ෂණික අංග ඇතුළත් පින්තූර පොතක් සකස් කරන්න.

3. ශ්‍රී ලංකාවේ විවිධ ස්ථානවලින් හමු වූ පුරාණ රෝම කාසි ප්‍රදර්ශනය සඳහා කොළඹ කෞතුකාගාරයේ තැන්පත් කර තිබේ. ඒවා නරඹා ඒ හා සම්බන්ධ තොරතුරු දැන ගන්න.

## පෙළපොත් තේමා ගීතය

සිත් පුරා මල් පිපී
අලුත් පොත් සුවඳ දී
නෙත් පුරා රූ මැවූ
අපේ ලොව එළිය වී..//

පොත් පුරා දැනුම පිරී
පුංචි මුව සිනා රැලි
අලුත් ම පොත්වල එළිය
අලුත් වෙයි සැම දිනේ

පොත් අපේ නෙත් වගේ
නෙත් රකින විලසිනේ
දැනුම දෙන අපේ පොත්
රැකගනිමු සතුටිනේ ....

සිත් පුරා මල් පිපී ..//

රචනය : සරත් කුමාර පෙරේරා
තනුව : මහේෂ් දෙනිපිටිය

